# කපුටු කාක් කාක් කාක්!

## ශ්‍රී ලංකේය අරගලයක්

### අරගලයට හපන් දරුවන්ට මග පෙන්වීමක්



අමල් ද චිකේරා සහ දේශාන් තෙන්නකෝන්



## මාතෘකාව ගැන සිතන්න යමක්

“කපුටු කාක් කාක් කාක්” කියන්නෙ 2022 අරගල භූමියෙන් ඔයාට ඇහෙන හොඳට හුරු පුරුදු හඬක්. මෙතනදී ‘කපුටා’ නැත්නම් ‘කාක්කා’ කියන්නෙ ලංකාවේ බලසම්පන්න ඒ වගේම දූෂිත දේශපාලකයකුට පටබැඳිල තියන නමක්. ‘කාක් කාක් කාක්’ කියන්නෙ කපුටා අඬන විදිහ. කවුරුහරි මෙහෙම කියල කෑ ගහනව ඔයාට ඇහුණොත්, ඔයා දැනගන්න ඕනෙ ඒක අපේ රටට හානි කරල තියන බලසම්පන්න කෙනෙකුට එරෙහිව නැගෙන විරෝධතා හඬක් බව. අපේම රටට සුවිශේෂ වූ ජනතා අරගලය තමයි මෙන්න මේ හඬින් සංකේතවත් වෙන්නෙ.

## පොත ලියූ කාලය ගැන යමක්

මාගේ ඉංග්‍රීසි මාධ්‍ය සංස්කරණය 2022 අප්‍රේල් මස 18 දින සිට ජූනි මස 06 වන දින අතරදී ලියා මාර්ගගත ක්‍රමය ඔස්සේ ප්‍රකාශයට පත් කළා. මෙම සති හතක කාලය තුළදී සහ ඊට කලින් සිදු වූ බොහෝ දේ ගැන මම ඔබට කියන්නම්. 2022 ජූනි හා අගෝස්තු කාලය අතරතුර, එනම් මේ පොතේ සිංහල හා දමිළ පරිවර්තනයන් සහ මුද්‍රණ සංස්කරණයන් සිදුවෙමින් පවතින අතරතුර, අපේ රට තුළ නොයෙකුත් වෙනස්කම් සිදු වුණා. ඊළඟට කුමක් සිදුවේදැයි කියන්න පුළුවන කාටද? එනිසා මම මේ පොතට ඇතුළත් කරන්නේ 2022 ජූනි මාසෙට කලින් සිදු වුණ දේවල් පමණක් බව කරුණාවෙන් මතක තබා ගන්න. එමඟින් මේ තුළ කැටි කොට ඇති හැඟීම් බොහෝ කාලයක් රැඳෙනු ඇති.



**අපට පෙර විරෝධතා දැක්වූ සියල්ලන්ට**
**අපෙන් පසු විරෝධතා දක්වන සියල්ලන්ට**

කර්තෘ අයිතිය අමල් ද චිකේරා

චිත්‍ර සහ සැලසුම් නිර්මාණය දේශාන් තෙන්නකෝන්

සංස්කරණය රුවන්ති ද චිකේරා

විමර්ශනය අම්බිකා සත්කුනනාදන්, හෙලානි ගල්පාය,පියුමි සමරවීර, සකුන්තලා කදිර්ගාමර්, ශමාරා වෙත්තිමුනි, ෂෙහාන් කරුණාතිලක සහ ට්‍රේසි හොල්සින්ගර්

**දමිළ පරිවර්තනය**
ප්‍රධාන පරිවර්තක සහ පිටපත්කරණය: ප්‍රියදර්ශනී සිවරාජා
පරිවර්තන සහාය හා සම්බන්ධීකරණය: කිංන්ග්      රත්නම්
විමර්ශනාත්මක සංස්කරණය: සත්‍යප්‍රියා රත්නසාමි

**සිංහල පරිවර්තනය:**
පරිවර්තනය: කල්පනා පුරසිංහ
පිටපත්කරණය: ජීනාන්දනී පරමේශ්වරම්
විමර්ශනාත්මක සංස්කරණය: හිමන්සි දෙහිගම
සම්බන්ධීකරණය: පියුමි විජේසුන්දර සහ වීණාදරී ලක්ෂිකා ජයකොඩි

ප්‍රකාශනය අමල් ද චිකේරා සහ දේශාන් තෙන්නකෝන්

පරිවර්තනය, මුද්‍රණය හා මුද්‍රිත පොත් බෙදා හැරීමේ දායකත්වය  නීලන් තිරුචෙල්වම් භාරය

එළිදැක්වීමේ උත්සව, මුද්‍රිත පිටපත් බෙදාහැරීමේ පහසුකම් සැලසීම, නීතිය හා සමාජය භාරකාරීත්වය හා Stages Theatre Group

මාර්ගගත ක්‍රමය ඔස්සේ පොත නිකුත් කිරීමට කළ කාර්යභාරය වෙනුවෙන් අන්තර්ජාල ලේඛනාගාරය, Stages Theatre Group සහ Mind Adventures Theatre Co. කෘතගුණ පූර්වකව සිහිපත් කරමු

ISBN 978-1-7395849-4-8






අගෝස්තු 2022

**මම A 5 ප්‍රමාණයේ ය. A 4 ප්‍රමාණයේ පිටුවක මාගේ පිටු දෙකක් මුද්‍රණය කිරීමට හෝ ඡායා පිටපත් කිරීමට හැකිය. කරුණාකර මා පිටපත් කර නොමිලේ බෙදා හරින්න.**



# පටුන

# නළු පිරිස

මෙම චරිතය කෑදරයි. බලසම්පන්නයි. අනිත් අයව වේදනාවට පත් කරනව. එය බලවත් දේශපාලකයකු වෙන්න පුළුවන්. වංක ආගමික නායකයෙක්, ප්‍රචණ්ඩකාරී කණ්ඩායමක්, සොල්දාදුවෙක්, ආත්මාර්ථකාමී පොලිස් නිලධාරියෙක්,ව්‍යාපාරිකයෙක්, දැවැන්ත සමාගමක්. පිටුවෙන් පිටුව එම චරිතය මොකද්ද කියන එක වෙනස් වෙනව. මේ වගේ චරිතයක් එක වරක් අඳුනාගත්තොත් ඔයාට හැමතැනම ඉන්න මේ වගේ අය අඳුනගන්න පහසු වෙයි.



මේක කොස්සක්. ඒත් ඒක කොස්සක් වෙලාම නැහැ. ඒක හැම වෙලාවෙම වෙනම දෙයක්.

මේ තියෙන්නෙ රත්තරන්. ඒත් මිනිස්සු කෑදර වෙන ජාතියෙ වෙනත් දේවලුත් මෙතන තියෙනව.



මේ ඉන්නෙ ඔයයි මමයි. අපි හැමෝමයි.



# ආයුබෝවන්!

මට සතුටුයි ඔයා මාව තෝරා ගත්තු එක ගැන.

පොතක් වෙන එකත් ලොකු දෙයක්, ඒත් මට ඉස්සර වෙන්න බෑ.

ඔයා මාව හොයාගෙන, කැමැත්තෙන් දිගහරින්න ඕන.

දැන් අපිට පුළුවන් යාළු වෙන්න!

ඉතිං...

අපි කතා කරමු අපේ රටේ, ඒ කියන්නෙ ශ්‍රී ලංකාවේ මොනවද සිද්ධ වෙන්නේ කියලා.

ඔයාට මතකද කාලෙකදි, හැන්දෑවක හරි, නිවාඩු කාලෙක හරි, ඔයාගේ පවුලේ අය හැමදෙනාගෙන්ම අහනව "මොනවද අද අපි කරන්නේ? මුහුදු වෙරළට යමුද? නැත්තම් පාක් එකට? නෑදෑයෝ බලන්න?"

2022 දි ගොඩක් අය අහන්නෙ "අපි අරගලයට යමුද?" කියලයි.

ඊළඟට ඔයා පෝස්ටරයක් හදාගෙන ළඟම තියන අරගලයට යනව. පෝස්ටරයක්, ඉටිපන්දමක්, අරගෙන හෝ නැත්තම් අත් දෙක උඩට උස්සල කෑ ගහනව. ඔයා සටන් පාඨ ඉගෙන ගන්නව. ඒවා කියල කෑ ගහනව. යන එන අය ඒක දැකල ඔල්වරසන් දෙනව. ඒගොල්ලන්ගේ වාහනවල නළා ශබ්ද කරනව. සමහර වැඩිහිටියො කියන්නෙ දරුවන් අරගලවලට යන්න සුදුසු නැහැ කියලයි. තවත් සමහරු කියනව යන්න ඕනෙ කියල. ඔයාගෙ සමහර යාළුවො දිනපතා අරගලයට සහභාගි වෙනවා ඇති. තවත් සමහරු ගිහිල්ලම නැතුව ඇති.

කොහොම වුණත් හැමෝගෙම කතාබහ ජනතා අරගලය ගැනයි.

ලාංකේය තරුණ පුරවැසියෙක් විදිහට, ඔයාටත් මේ දේවල්වලට මැදිහත් වෙන්න ආස ඇති. හොඳට මතක තියාගන්න. වෙනසක් ඇති කරන්න ඔයා ලොකු කෙනෙක්ද පොඩි කෙනෙක්ද කියන එක වැදගත් වෙන්නෙ නැහැ කියල. (මේ බලන්නකො මගෙ ඇඟේ තරම!)

ඔයාට සමහර විට ප්‍රශ්න ඇති. "මොනවද මේ වෙන්නේ? ඇයි අපි අරගල කරන්නේ? මොනවද වෙනස් කරන්න පුළුවන්?"

මම ඔයාගෙ ප්‍රශ්නවලට උත්තර දෙන්න බලන්නම්. ඒ වගේම අලුතින් ප්‍රශ්න කරන්නත් උදව්කරන්නම්. ප්‍රශ්න අහන එක හරිම හොඳයි. ප්‍රශ්න අහන එකෙන් අපි අලුත් දේවල් ඉගෙනගන්නවා, ඇයි අපි සමහර දේවල් කරන්නෙ කියන එක අපි හිතන්න පටන් ගන්නවා. ඒ වගේම අපි ඒ කරන දේවල් තවත් හොඳට කරන්න පුළුවන් විදිහවල් අපිට හොයල දෙනවා.

ඔයා මාව කියවල ඉවරවෙලා, මට යාලුවෙන්න පුළුවන් තවත් කෙනෙකුට මාව බාර දෙන්න.

හැබැයි මුලින් ම අපි කවුද, කොහොමද ආවෙ කියන එක හොයල බලමු.


මනස
ඇස් හා
කන්
අපි කවුද?
කොහොමද
මෙතෙන්ට
ආවෙ?

# රටක් හැදෙන්න මොනවද අවශ්‍ය?

අපේ රට ශ්‍රී ලංකාව.

ඒත් රටක්, රටක් හැටියට හැදෙන්නේ කොහොමද? ශ්‍රී ලංකාව අපේ වෙන්නේ කොහොමද?

අපේ රට මුහුදින් වට වුණු පුංචි දූපතක්.

ඈත අතීතයේ ඉඳලම, නොයෙක් වර්ගවල මිනිස්සු හතර වටෙන් ඇවිත් අපේ මේ පුංචි දූපත ඒ අයගෙ නිවහන කර ගත්තා. නොයෙක් රාජධානි එක ළඟ තිබුණා. ඒ අය සමගියෙන් හිටිය. සටන් වැදුණු අවස්ථාත් තිබුණා. 1505 දි පෘතුගීසී ජාතිකයින් අපව ආක්‍රමණය කළා. ඊටත් පස්සේ ලන්දේසීන්ගෙන් වගේම අවසානයට ඉංග්‍රීසීන් අතිනුත් ලංකාව ආක්‍රමණයට ලක් වුණා. ඒ හැම ජාතියක්ම යටත් විජිතවාදීන් විදිහට අවුරුදු 450ක් අපේ රට පාලනය කළා.

අවුරුදු 75කට පෙර, 1948 දී, අපේ මුතුන් මිත්තන් බ්‍රිතාන්‍ය ජාතීන්ගෙන් නිදහස ලබාගැනීම වෙනුවෙන් පෙළ ගැහුණා. එතන ඉඳල අපේ රට අපිම පාලනය කරන්න අපි තීරණය කළා. ඉංග්‍රීසීන් අපේ රටට 'සිලෝන්' කියල කිව්වත්, පසුව ඒක 'ශ්‍රී ලංකාව' වුණා.

අන්න ඒ විදියටයි රටක් හැදෙන්නේ. එක්තරා ඉඩ කඩක් නැත්නම් භූමියක්, ඒක තමාට අයිතියි කියලා හිතන මිනිස්සු පිරිසක්, එකට එකතුව ජීවත්වෙන්න තියන කැමැත්තත් ඉතා වැදගත් වෙනවා.

නමුත් රටක රට වැසියන් හැමවෙලාවෙම මේ විදිහට එකට එකතුවෙන පලියටම ඒගොල්ලො සමගියෙන් සමාදානයෙන් ජීවත්වෙන්න දන්න බවත්, එකිනෙකාට කරුණාවෙන් සලකන බවත් අදහස් වන්නේ නෑ.



# සටන් කරන එකෙන් පලක් තියනවද?

ශ්‍රී ලංකාව හරිම සුන්දර රටක්. සුන්දර කඳු වැටි, මුහුදු වෙරළ, වැහි වනාන්තර, තැනිතලා, ගංගා, දිය ඇලි වගේ ලස්සන ස්වභාවික සම්පත් වලින් අපේ රට පිරිල.

අපට අපූරු වනජීවී ගහනයක් ඉන්නවා: සාගරයේ ඉන්න තල්මස්සු, ඩොල්ෆින්ල; වනාන්තරවල ඉන්න අලි ඇත්තු, දිවියො; අහස පුරා සැරි සරන කුරුල්ලෝ, සමනල්ලු, කොයි තරම් අපූරු ද?

අපිට තියෙන්නේ හරිම විචිත්‍රවත් අතීතයක්: ඉතා පැරණි පන්සල්, ඉස්ලාම් පල්ලි, කෝවිල් වගේම අපේම රටේ දක්ෂ වාරිමාර්ග ශිල්පින් අතින් හැදුණු වැව් අමුණු, පිළිම, කොටු පවුරු, ක්‍රිස්තියානි පල්ලි සහ ගොඩනැගිලි, මේ ඉතිහාසයත් එක්ක හරිම සුන්දර විදිහට බැඳිලා තියනව. ඒ වගේම සංගීත, නැටුම්, නාට්‍ය, චිත්‍ර කලා ශිල්ප, ඒ විතරක් නෙවෙයි, අපිටම කියපු රසවත් කෑම වර්ග. මේ හැම දෙයක්ම අපේ රටේ සුන්දරත්වය තවත් වැඩි කරනව.

අපේ රටේ මිනිස්සුත් හරිම සුන්දරයි. බොහෝ අය සතුටින් කාලය ගත කිරීමට කැමති, කරුණාවන්ත, ත්‍යාගශීලී මිනිස්සු. අපේ රටට එන අමුත්තන්ව ආදරයෙන් පිළි අරගෙන, ඒ අයව හොඳින් රැකබලා ගන්න මිනිස්සු කොටසක් ඉන්න රටක් හැටියට අපි ප්‍රසිද්ධයි.

අපේ රට ගැන ආඩම්බර වෙන්න බොහෝ දේවල් තියනව. එහෙම වෙලත් මිනිස්සු තම තමන් අතරෙ ආරවුල් හදාගෙන අඬ දබර කරගෙන එකිනෙකාගේ හිත් රිදවද්දී අපිට දුක හිතෙන එක සාධාරණයි.

මේ වේදනා හා පීඩාවන් නිසා අපේ රටේ සුන්දරත්වය වගේම මිනිස්සුන්ගේ ලස්සන ජීවිතත් විනාශ වෙලා යනව.

ජනතා අරගලය කියන්නෙ අපේ ලස්සන රට විනාශ කරන මේ වේදනාවන්ට විරුද්ධව නැගී ඉන්න දෙයක්. අපව පීඩාවට පත්කරන, එහෙම කරල ධනවත් වුණ බලවත් මිනිසුන්ට විරුද්ධව නැගෙන දෙයක්.

අපි සටන් කරන්නේ අපේ රටේ සුන්දරත්වය ආරක්ෂා කරගන්න. එහෙමනම්, ඒ සටන වෙනුවෙන් යොදාගන්න ඕනෙ වෙන්නෙත් සුන්දරම දේවල් නෙවෙයිද?



# අපි කවුද?

අපි කවුද කියන එක නිර්මාණය කරන්නේ අපේ අනන්‍යතාවයි.

හැම කෙනෙකුටම සුවිශේෂ වුණු අනන්‍යතා තියනව. ඒවා බොහොමයක් එකට එකතු වෙලා තමයි අපි හැම කෙනාම සුවිශේෂී කෙනෙක් විදිහට ඉස්මතු වෙන්නෙ. (වෛවර්ණ ටයිල් කැබලි භාවිත කර සකසන මොසායික් නිර්මාණ වගේ).

ශ්‍රී ලාංකිකයෙක් වීමත් අපගේ අනන්‍යතාවයේ කොටසක්. ඒ අනන්‍යතා අතර වාර්ගිකත්වය, ආගම, භාෂාව හා පන්තිය වගේ දේවල් පවතිනවා.

අපගේ වාර්ගික අනන්‍යතාවය කියල කියන්නෙ අපි අයිති වෙන ප්‍රජාවටයි. අපි නිතරම කතා කරන්නෙ දෙමළ, මුස්ලිම්, බර්ගර්, සිංහල, ජනතාව ගැන. ඒත් ලංකාවේ ජන වාර්ගික කණ්ඩායම් 24 ට වැඩි ප්‍රමාණයක් ඉන්නව. ඔයාට ඒවා මොනවද කියල කියන්න පුලුවන්ද?

ආගම කියන්නෙත් තවත් අනන්‍යතාවයක්. ලංකාවේ බෞද්ධ, ක්‍රිස්තියානි, හින්දු, ඉස්ලාම් වගේම වෙනත් ආගම් සහ විශ්වාසයන් අදහන අයත් ඉන්නව, ඒ වගේම කිසිම ආගමක් අදහන්නෙ නැති අයත් ඉන්නව.

ඔබටත් නොයෙක් අනන්‍යතා තියන යාළුවො සහ නෑදෑයෝ ඇති.

අනන්‍යතා බොහොමයක් කියන්නෙම විවිධ වර්ගයේ ඇඳුම්, ආහාර, සිරිත් විරිත් සහ භාෂාවන් වගේ දේවලුත් අපි අතරට එකතු වෙනව කියන එක. ඒක අපූරු දෙයක් නෙවෙයිද?

ඒත් අවාසනාවකට වගේ සමහර මිනිස්සු අපි අතරෙ තියන මේ සුන්දර වෙනස්කම් දකින්නෙ නරක දෙයක් විදිහට. සමහර අය අපි අතරෙ තියන මේ වෙනස්කම් වලට බයයි. ඒගොල්ලො තමන්ට වැඩිය වෙනස් කෙනෙක් දැක්කොත් ඒ අය දිහා බලන්නෙත් වෙනස් විදිහට. සමහරවිට මෙහෙම හැසිරෙන්න මේ අය ඉගෙනගන්නෙ දෙමාපියන්ගෙන්, ගුරුවරුන්ගෙන්, සමාජයෙන්, පාසැල් පොතකින් එහෙමත් නැත්තම් රූපවාහිනියෙන් වෙන්න පුළුවන්.

ඉතින් ඒ වගේ හැසිරීම් ප්‍රශ්න කරන්න මේ හොඳම කාලය නෙවෙයිද?



# අපි අයිති වෙන්නෙ කොහාටද?

ප්‍රජාව කියන්නෙ විශිෂ්ට වචනයක්.

ඒකෙන් අදහස් වෙන්නේ එකට එක්ව ජීවත්වන, එහෙමත් නැත්තම් එකට එකතුවෙලා වැඩ කරන, එක හා සමාන වටිනාකම් තියන, එකිනෙකා වෙනුවෙන් වගකීම් බාරගන්න, එකා වගේ ජීවත් වන පිරිසක්.

අපේ ආගමික සහ ජන වාර්ගික කණ්ඩායම් ප්‍රජාවන් විදිහට හඳුන්වන්න පුළුවන්. අපගේ අසල්වැසියන්, පාසැල්, ක්‍රීඩා කණ්ඩායම්, මේ වගේ නොයෙක් විදිහේ ප්‍රජාවන් වර්ග උදාහරණ විදිහට දක්වන්න පුළුවන්.

සමහර වෙලාවට මුළු රටම එකම ප්‍රජාවක් විදිහට දකින්නත් පුළුවන්. මෙහෙම වෙන එක හරිම විශිෂ්ට දෙයක්. මොකද ඒකෙන් කියවෙනවා අපි හැමෝම එකිනෙකාව බලාගන්න බව.

අපේ අනන්‍යතාව ගැන කතා කරනකොට මේ ප්‍රජාවන්ට හිමිවෙන්නෙ විශේෂ ස්ථානයක්.

අපේ දේශපාලකයෝ ඉගෙනගෙන ඉන්නේ එක ප්‍රජාවකට වඩා අනෙක් ප්‍රජාව වැඩියෙන් වැදගත් වෙනවා කියන අදහස නිතරම එක් ප්‍රජාවකට දැනෙන්න ඇරියොත්, ඒකෙ ප්‍රතිඵලයක් විදිහට ඒ ප්‍රජාවෙ මිනිස්සු අනිත් ප්‍රජාවේ මිනිස්සුන්ට නරක විදිහට සලකයි කියල.

ඒ වගේම දේශපාලකයන් හිතනවා ඒ ඒ ප්‍රජාවන්ට එකිනෙකා අතර සැකයක් හරි බයක් හරි ඇති කරගන්න ඉඩ හැරියොත්, ඒකෙ ප්‍රතිඵලයක් විදිහට දේශපාලකයන්ගේ වැරදි අඩුපාඩු ගැන මිනිස්සුන්ගේ අවධානය අඩුවෙයි කියල.

මේ තත්ත්වය ලංකාවේ බොහෝ වතාවල්වල ඇතිවෙලා තියනව.

අනිත් අයව පහත් කරන්නෙ නැතුව, හැම ප්‍රජාවක්ම ආදරයෙන් වැලඳගෙන ඒ සතුට සුන්දරව රස විඳින්න අපට පුළුවන් වෙන්න ඕනෙ නේද?



# මගෙ නිවහන කඩා දැම්මෙ කවුද?

අපි හැමෝටම නිවසක් තියනව. අපි අපේ පවුල් සමඟ මඟ මේ නිවෙස්වල ජීවත් වෙනවා.

නිවස කියන තැන සතුට පිරුණ ආරක්ෂාව ඇති තැනක් වෙන්න ඕනෙ. ඒත් හැම වෙලාවෙම ඒක එහෙම වෙන්නෙ නැහැ, අපි රණ්ඩු සරුවල් වෙද්දි, අපිට හරි අපි ආදරය කරන කෙනෙකුට හරි කරදරයක් වුණු වෙලාවට මේ තත්ත්වය වෙනස් වෙන්න පුළුවන්.

ඒත් සමහර අයට, නිවස කියන තැන සතුටෙන්ම ඉන්න බැරි තැනක් වෙලා තියනව. මැර කල්ලි, සොල්දාදුවන් එහෙමත් නැත්තං ත්‍රස්තවාදීන් ඒ අයගේ ගෙවල් විනාශ කරල දාල.

නිදහස ලැබුණ දිනේ ඉඳලම, බොහොමයක් ශ්‍රී ලාංකිකයින්ට, විශේෂයෙන්ම උතුරු-නැගෙනහිර ප්‍රදේශවල ජීවත් වුණු දෙමළ සහ මුස්ලිම් ජාතිකයන්ට තමන්ගේ ගෙවල් අහිමි වෙලා තියනව. ඒකට ප්‍රධානම හේතුව වුණේ අවුරුදු ගණනාවක් එක දිගට මේ ප්‍රදේශවල තිබුණු බිහිසුණු යුද්ධය. ඒ ගෙවල්වල නියම අයිතිය තියන අයට බාර නොදී, මේ වෙනකොටත් හමුදාව මේ මිනිස්සුන්ට අයිති ගෙවල් අත්පත් කරගෙන ඉන්නව.

1983 දී දෙමළ ජනතාවට තදබල විදිහට ප්‍රහාර එල්ල කළා විතරක් නෙවෙයි ඒ අයගේ නිවාස කඩා බිඳ දැම්මා. 2014 හා 2018 දී, මුස්ලිම් ජනතාවට විරුද්ධව කැරලි ඇති වුණා. මේ ප්‍රචණ්ඩකාරී තත්ත්වයෙන් ගැලවෙන්න බොහොමයක් මිනිස්සු රටේ වෙනත් ප්‍රදේශවලට පලා ගියා. අනිත් අය විදෙස්ගත වුණා.

කොළඹ නගරයේ සමහර ප්‍රදේශවල කුඩා නිවාස කඩා බිඳ දාල මහා පරිමාණ ඉදිකිරීම් කරන්න දේශපාලකයෝ පියවර ගත්තා. මේ නිසා දුප්පත් ජනතාව බලහත්කාරයෙන් තමන්ට අයිති ගෙවල් වලින් පිටමං කළා.

මේ විදිහට පලාගිය නෑදෑයෙක් හරි යාලුවෙක් හරි ඔයාටත් සමහර විට ඇති. එහෙමත් නැත්තම් ඔයාටම මේ තත්ත්වයට මුහුණ දෙන්න සිද්ධ වෙන්නත් ඇති.

මේ වගේ තත්ත්වයකට ඔයාට හරි ඔයා දන්නා අඳුනන කෙනෙකුට හරි මූණ දෙන්න සිද්ධ වුණොත් ඔයාට ඇතිවෙන හැඟීම මොන වගේ වෙයිද?



# එප්පඩි? කොහොමද? හව්?

අපේ රටේ මිනිස්සු ප්‍රධාන භාෂා තුනකින් කතා කරනව. ඒ තමයි දෙමළ, සිංහල, ඉංග්‍රීසි. ඒ වගේම සංඥා භාෂාවත් පාවිච්චි කරනව.

ඔයා එක භාෂාවකට වැඩියෙන් කතා කරනවනම්, ඔයාගෙ මොළය හොඳින් වැඩෙනවා කියල විද්‍යාඥයන් විශ්වාස කරනව.

ඔයා භාෂා කීයක් කතා කරනවද?

ඔයා සිහින දකින්නේ මොන භාෂාවෙන්ද?

නිදහසෙන් පස්සෙ, 1956 දී, සිංහල භාෂාව මේ රටේ ප්‍රධාන භාෂාව වෙන්න ඕනෙ කියල දේශපාලකයො නීතියක් ගෙනාව. එදා ඉඳල මිනිස්සු වෙනුවෙන් සේවය කරන්න හිතන ඕනෙම කෙනෙකුට සිංහල භාෂාව ඉගෙනගන්න ම සිද්ධ වුණා. දෙමළ විතරක් කතා කරන ප්‍රදේශවල ඉන්න මිනිස්සුන්ට පවා සිංහල ඉගෙනගන්න සිද්ධ වුණා.

මේ නීතිය නිසා, දෙමළ හා ඉංග්‍රීසි කතා කරන බොහෝ දෙනෙකුට තමන්ට මේ රට තුළ අයිතියක් නැහැ වගේ දෙයක් දැනෙන්න වුණා. ඒ අයට නරක විදිහට සැලකුවා. සමහර අයට තමන් කර කර හිටපු රැකියාවල් පවා නැති වුණා. බොහෝ දෙනෙක් අපේ රට දාල ගියා.

එකම පන්තියේ, එකම ඉස්කෝලෙ, එකට ඉගෙන ගත්ත දරුවෝ ඉස්කෝලෙ ඇතුලෙම, නැත්නම් පන්ති ඇතුලෙම සිංහල දෙමළ විදිහට බෙදුණ. ඒ වගේම සිංහල, දෙමළ පාසල් වශයෙනුත් දෙපැත්තකට බෙදුණ.

වසර ගණනකට පස්සෙ, 1987 දී, මේ නීතිය වෙනස් වුණා. ඒ වුනත්, ඒ වෙනකොටත් විශාල හානියක් අපේ රටට වෙලා ඉවරයි.

අපේ මේ භාෂා තුනටම මේ වෙනකොටත් එක හා සමාන තැනක් ලැබෙන්නේ නැහැ.

ඔයාට කිසිම තොරතුරක් දැනගැනීමේ පහසුකමක් නැතිවුණොත්, කිසිම දෙයක් කරගන්න බැරි තත්ත්වයක් ආවොත්, ඔයාට හුරුපුරුදු භාෂාව කතා කරන එක අනාරක්ෂිතයි කියල දැනුණොත් ඒ හැඟීම මොන වගේ වෙයිද?



# ඔයා මොනවද විශ්වාස කරන්නෙ?

ශ්‍රී ලංකාවේ ආගම් ගණනාවක් අදහන මිනිස්සු ඉන්නවා.

මේ අතරින් හින්දු, ක්‍රිස්තියානි, ඉස්ලාම් හා බෞද්ධ කියන ආගම් හතර වැඩි කොටසක් අදහනවා. සමහරු වෙනත් ආගමක් අදහනවා. සමහරු කිසිම ආගමක් අදහන්නෙ නැහැ.

කලින් කියපු සිංහල භාෂාව සම්බන්ධ නීතිය වගේම බෞද්ධාගම වැදගත්ම ආගම කියල මතයක් හදපු නිසා ප්‍රශ්න තවත් වැඩිවුණා.

සමහර ආගමික නායකයො තමන්ගේ ආගම අදහගෙන ඉන්න එක පැත්තක තියල, වැඩිපුර වෙහෙසුණේ අනිත් ආගම් හෙලා තලා දාන්න. ඒකෙන් ඒගොල්ලො බලාපොරොත්තු වුණේ සමාජයේ ප්‍රබල කෙනෙක් විදිහට නැගී ඉන්න, එහෙමත් නැතිනම් වඩාත් ධනවත් වෙන්න.

තමන්ගේ ආගම ඇදහීම නිසාම සමහරුන්ට මැරෙන්නත් සිද්ධ වුණා.

1987 දි LTTE යයි නම් දැරූ කණ්ඩායමක් විසින් බස් රථයක් පිරෙන්න සිටි බෞද්ධ භික්ෂුන් වහන්සේලා සියලු දෙනාගේම ජීවිත මුළුමනින්ම විනාශ කළා.

යුද්ධය පැවතුණු කාලයේ විතරක් නෙවෙයි, ඊට පස්සෙත් උතුරු නැගෙනහිර ප්‍රදේශවල හින්දු ආගමික පූජනීය ස්ථාන බොහොමයක් හමුදාව අතින් විනාශයට පත්වුණා.

මීට අවුරුදු තුනකට ඉහතදී, ඒ කියන්නෙ 2019, පාස්කු ඉරිදා දවසේ, පුංචි ළමයි, ගැහැණු, පිරිමි, ඇතුළුව 250 ට වැඩි ප්‍රමාණයක් කිතුණු පල්ලි සහ හෝටල් ඇතුලෙ ඝාතනය වුණා.

ආගමකින් කරන්න ඕනෙ අපිව යහපත්, කරුණාවන්ත මිනිස්සු බවට පත් කරන එක. අපි බොහෝ දෙනෙක්ට ඒක එහෙම වුණත්, ආගමේ නාමයෙන් සිදුවෙලා තියන විනාශකාරී දේවල් බොහොමයි.

තම තමන් විශ්වාස කරන දේ ඇදහීමට හැමෝටම ආරක්ෂාවක් තියෙන්න ඕනෙ නේද?



# මේක ඇත්තෙන්ම වැදගත් දෙයක්ද?

'පැලැන්තිය' කියන වචනය පැහැදිලි කරන එකනම් ලෙහෙසි පහසු වැඩක් නෙවෙයි.

ඔයා දැනටමත් දන්නව නේද කෙනෙකුගෙ භාෂාව, ආගම හෝ ජන වර්ගය කියන දේවල් අනුව ලංකාවේ මිනිස්සුන්ට වෙනස් විදිහට සලකන අවස්ථා තියනව කියලා? අන්න, ඒ වගේම පැලැන්තිය කියන එක නිසාත් මේ විදිහටම මිනිස්සුන්ට වෙනස් විදිහට සලකනවා.

පැලැන්තිය කියන දේ ගැන හොයා බලන එක විදිහක් තමයි ඔයා දුප්පත් ද, පොහොසත් ද කියල එහෙමත් නැත්තම් ඒ දෙකටම අතරමැද තැනකද ඉන්නෙ කියල අහන එක. ඒත් පැලැන්තිය මනින එකම දේ සල්ලි විතරක් නෙවෙයි.

ඔයාගේ දෙමාපියන්ගේ රැකියාව, ඔයා කතා කරන භාෂාව, ජීවත් වෙන ස්ථානය, ඔයාගෙ මුතුන් මිත්තන් කළ රැකියාවන් (මේකට කුලය කියලත් කියනව) පවා පැලැන්තියේ කොටස් විදිහට සලකන්න පුළුවන්.

අපගේ ජනතාව 'ධූරාවලියකට' යටත් වෙලයි ඉන්නෙ.

ඒ කියන්නෙ සමහර මිනිස්සුන්ට අපි සලකන්නෙ අපට 'පහළින්' ඉන්න අය හැටියට. ඒ වගේම සමහරු අපට වඩා 'ඉහළින්' ඉන්න අය විදිහට සලකනවා. මිනිස්සුන්ට සමානව සැලකීමට වගේම ඔවුන්ට සාධාරණව සැලකීමටත් අපට බැරිවෙලා තියෙන්නේ ඒකයි.

ශ්‍රී ලාංකිකයන් වැඩි දෙනෙක් මේ වගේ වෙනස්කම් ගැන හිතමින් ඒ ගැන වද වෙමින් තමන්ගේ ශක්තිය අපතේ යවනව. අපි හිතාගෙන ඉන්න අපට වඩා 'පහළ පන්තියේ' මිනිස්සුන්ට ඉතාම නරක ලෙස සලකනවා.

මේක මෝඩ වේදනාකාරී දෙයක් නෙවෙයිද?



# වෙනසට වෙනස්කම් කිරීම

ඔයාගෙ අනන්‍යතාව නිසා හෝ හැකියාවන් නිසා ඔයා වෙනස් විදිහේ සැලකීමකට භාජනය වෙනව නම් අන්න ඒකයි මේ වෙනස් ලෙස සැලකීම කියන දෙයින් අදහස් වෙන්නෙ.

ඔයාට එරෙහිව වෙනස්කම් කරනකොට, ඒ කෙනා ඔයා ගැන කිසිම වැඩකට නැති දේවල් මුල් කරගෙන, ඔයා ගැන යම්කිසි අදහසකට එළඹෙනවා. ඒ කියන්නෙ ඔයාගෙ දෙමාපියන් කවුද, ඔයාගේ පෙනුම මොන වගේද, ඔයා විශ්වාස කරන දේවල් මොනවද, ඔයා ගැහැණු ද පිරිමිද කියන එක, ඔයාට සල්ලි තියනවද නැද්ද කියන කාරණා වගේ විවිධ දේවල්. එතන ඉඳල ඒගොල්ලො ඔයාට අසාධාරණ විදිහට සලකන්න පටන්ගන්නවා.

අවාසනාවකට, ලංකාවේ මේ වගේ දේවල් බොහොමයි.

මුස්ලිම් හා දෙමළ ජනතාව; ගැහැණු දරුවන් හා කාන්තාවන්; දුප්පත් මිනිස්සු; සමලිංගිකයන්, ද්වි ලිංගිකයන්, සංක්‍රාන්ති ලිංගිකයන්, අන්තර් ලිංගිකයන් (LGBTQI) මෙන්ම ආබාධිත පුද්ගලයන් උදාහරණ විදිහට දක්වන්න පුළුවන්.

මේ අතරින් බොහෝ දෙනෙක් තමන්ව වෙනස් ලෙස සැලකීම අත්දැකපු අය.

සමහර වෙලාවල්වලට, පුද්ගලයන් සතු එකිනෙකට වෙනස් අනන්‍යතාවන් අනුවත් වෙනස්කම්වලට ලක්වීමට සිද්ධ වෙනවා. උදාහරණයක් විදිහට, ආබාධිත, දෙමළ, කතෝලික ගැහැණු දරුවෙකු ගැන හිතන්නකො. මේක ‘බහුවිධ වෙනස්කම්’ වලට ලක්වීම කියල අපි හඳුන්වනවා.

ටිකක් හිතල බලන්නකෝ ඔයාගෙ වෙනස් අනන්‍යතා ගැන. ඔයාගෙ දෙමාපියන් කවුද? කතා කරන භාෂාව මොකද්ද? ඔයා ආදරය කරන්නේ කාටද? විශ්වාසයන් මොනවාද? ඔයා කවුරු වගේද? ජීවත් වෙන්නේ කොහෙද? ඔයා කැමති මොනවා කරන්නද?

මේ වගේ අනන්‍යතා නිසා ඔයාට කවුරුහරි නරක විදිහට, එහෙමත් නැත්තං වෙනස් විදිහට සැලකුවොත් ඔයාට ඒක කොහොම දැනෙයිද?



# නැඟී සිටින්න!

වෙනසක් වෙනුවෙන් ඉල්ලීම් කිරීම විරෝධතාවයි.

මීට කලින් විරෝධතා දක්වපු අපේ රටේ ජනතාව වෙතින් අපට බොහෝ දේ ඉගෙනගන්න පුළුවන්. ඇත්තෙන්ම අපි ඒ අයට ගොඩක් ණයගැතියි.

අපගේ අවශ්‍යතා නොසලකා හරින, බලයේ ඉන්න පුද්ගලයන්ට ප්‍රබල පණිවිඩයක් ලබා දීමේ අදහසින් තමයි අපි විරෝධතා කරන්නේ. ඒ පණිවිඩය හරියට "අපි ඔබගේ ක්‍රියා කලාපය හෙළා දකිමු" වගේ දෙයක් හඟවන අදහසක්.

යම්කිසි විනාශකාරී දෙයක් සිද්ධ වෙද්දි, එක් පිරිසක් එය ගණනකට නොගෙන ජීවත් වීමට උත්සාහ කරනවා. (ඇත්තෙන්ම එහෙම ඉන්නවා ඇර ඒ අයට වෙන කරන්න දේකුත් නැහැ). ඒ වගේම තවත් පිරිසක් තමන්ගේ වගේම අනුන්ගේ ජීවිතත් සතුටුදායක කරගැනීමේ අරමුණ ඇතිව සටන් වදිනවා.

ලංකාවේ තිබුණු බොහෝ ප්‍රබල විරෝධතා සමානාත්මතාව වෙනුවෙන් පැවති ඒවා. ඒවා භාෂාව පිළිබඳ අයිතීන්, ප්‍රජා අයිතීන්, කාන්තා අයිතීන් වගේම ලිංගික (LGBTQI) අයිතිවාසිකම් වෙනුවෙන් හඬ නැගුණු ඒවා.

කර්මාන්තශාලාවල වැඩ කරන සේවකයන් වගේම තේ වතුවල සේවය කරන කම්කරුවන් සාධාරණ වැටුපක් සහ සැලකීම් වෙනුවෙන් විරෝධතා දක්වලා තියනවා.

ඒ වගේම තවත් සමහරු වනාන්තර රැක ගැනීම, වන ජීවීන් ආරක්ෂා කර ගැනීම වගේම පරිසර දූෂණය නැති කිරීම වැනි දේවල් වෙනුවෙන් ද විරෝධතා දක්වලා තියනවා.

ඒ විතරක් නෙවෙයි. ඝාතනයට ලක්වුණු, එහෙමත් නැත්තං අතුරුදහන් වුණු අයගේ පවුල්වල සාමාජිකයන් ද තමන්ට සාධාරණයක් ඉල්ලලා විරෝධතා දක්වලා තියනවා.

මේ වගේ විරෝධතා හරහා, බොහෝ වැරදි දේවල් වළක්වා ගන්නත්, යහපත් දේවල් ළඟා කරගන්නටත් පුලුවන් වෙලා තියනවා. නමුත් සමහර අවස්ථාවලදි විරෝධතා නොසලකා හැරලා විරෝධතා කරුවන්ට පහරදීමත් සිද්ධ වෙලා තියනවා. එහෙම වුණහම ප්‍රශ්න තව තවත් අවුල් වෙනවා.

තමන්ගේ රටට මොනතරම් ආදරයක් තියනවද කියල පෙන්නන්න පුළුවන් එක විදිහක් තමයි විරෝධතා දක්වන එක.

ඔයාගේ පවුලේත් ඉන්නවද නිතරම විරෝධතාවල යෙදෙන කෙනෙක්?



# වැඩියෙන්ම පීඩා විඳින්නේ කවුද?

ත්‍රස්තවාදියෙක් කියන්නෙ ප්‍රචණ්ඩත්වයෙන් සාමාන්‍ය ජනතාව බියවද්දලා තමන්ගේ අවශ්‍යතා සපුරා ගන්න කෙනෙකුට.

අපේ රටේ වෙනස්කම් වලට එරෙහිව සාමකාමී විරෝධතා දක්වන බොහෝ දෙනා නොසලකා ඇරලා තියනවා. එහෙමත් නැත්තම් ඒ අය ප්‍රහාරවලට ලක්වෙලා තියනවා. මෙවැනි අවස්ථා වල සමහර කණ්ඩායම් තමන්ගෙ ඉල්ලීම් සඳහා අවධානය යොමු කර ගන්න ප්‍රචණ්ඩත්වය භාවිතා කරලා තියනවා.

තමන්ට සමානව සලකන්න කියල දෙමළ ජනතාව කරපු ඉල්ලීම්වලට දේශපාලකයන් කන් දුන්නෙ නැති නිසා තමයි අන්තිමේදී LTTE සාමාජිකයන් ප්‍රචණ්ඩකාරී වුණේ. පන්ති බෙදීම් වලට එරෙහිව සටන් කරපු තරුණ කණ්ඩායම්වල හඬට දේශපාලකයන් කන් නොදීම නිසා JVP ලෙස නම් කරපු කණ්ඩායමක් ප්‍රචණ්ඩකාරී ලෙස හැසිරුණා.

ප්‍රචණ්ඩකාරී ලෙස හැසිරෙන කණ්ඩායම් හඬ නගන්නේ තමන්ගේ ම ප්‍රජාව වෙනුවෙන් කියලා කිව්වත්, මේ වගේ ක්‍රියා කලාපයන් නිසා වැඩි හිංසනයකට ලක් වන්නේ එම ප්‍රජාවමයි. තමන්ගේ අයිතීන් වෙනුවෙන් සාමකාමීව අරගල කරන බොහෝ දෙනා මේ වගේ කණ්ඩායම් මගින් ප්‍රචණ්ඩකාරි ලෙස නිහඬ කරවන්න හැකියාවක් තියනවා. ලංකාව පුරා විසිරී සිටි විශිෂ්ට දෙමළ නායකයන් සහ ක්‍රියාකාරින්ව LTTE විසින් ඝාතනය කරා.

වෙනත් ප්‍රජාවන් ද නොයෙකුත් වද විඳිනවා. 1990 වසරෙ යාපනේ හිටපු මුස්ලිම් ජනතාවට තමන්ගේ නිවාස අත ඇරල යන්න කියල LTTE සංවිධානය බල කරා.

'ත්‍රස්තවාදය' කියන වචනය හැදෙන්නෙ 'ත්‍රාසය' යන වචනයෙන්. ත්‍රාසය සහ බිය අතර තියන වෙනස ගැන ඔයාට හිතන්න පුලුවන්ද?

මෙතැනදී තවත් අභියෝගාත්මක දෙයක් මතුවෙනවා. බොහෝ දේශපාලකයො, පොලීසිය සහ හමුදාවත් තමන්ට අවශ්‍ය දේ ලබාගන්න අපේම ජනතාවට එරෙහිව ප්‍රචණ්ඩකාරි ලෙස හැසිරෙන අවස්ථා තියනවා.

මේ විදිහට හැසිරෙනකොට ඒ අයව හඳුන්වන්න ඕනෙ කොහොමද? මොනවද ඔයාට හිතන්නෙ මේ ගැන?



# අපට මේක ප්‍රතික්ෂේප කරන්න පුලුවන්ද?

ලංකාව ප්‍රචණ්ඩත්වයෙන් පිරුණු ඉතිහාසයක් ඇති රටක්.
මිනිස්සු විශාල ප්‍රමාණයක් ප්‍රචණ්ඩත්වය නිසා මැරුම් කාලා තියනවා.
අවුරුදු 30 ටත් වැඩි කාලයක් තිබුණු යුද්ධයේදී LTTE එක හා හමුදාව අතර සටන්වලින් දස දහස් ගණන් මිනිස්සු මරණයට පත් වුණා. විශාල ප්‍රමාණයක් මැරුණේ LTTE එකේ ආක්‍රමණ සහ බෝම්බ පිපිරීම් වලින්.
2009 දි යුද්ධෙ ඉවරවුණේ හරීම බිහිසුණු විදිහට. හමුදාවෙ සොල්දාදුවො LTTE එකත් එක්ක මුහුණට මුහුණ ලා ඉදිරියට එනකොට, ඒ අතරට මැදිවුණ සාමාන්‍ය දෙමළ ජනතාව විශාල ප්‍රමාණයක් ඒ ප්‍රදේශ ඇතුලෙ කොටු වුණා. ඒ අයට ආරක්ෂාව දෙනවා වෙනුවට හමුදාව කළේ ඔවුන්ව දහස් ගණනින් මරා දාපු එක.
1971 හා 1989 කාලවලදීත් දහස් ගණනින් පිරිස් මරණයට පත් වුණේ ඒ වෙනකොට පැවතුණු පන්ති බෙදීම් ක්‍රමයට එරෙහිව JVP සංවිධානයේ නායකත්වය ඇතුව තරුණ පිරිසක් මෙහෙයවපු අරගලය නිසා. පසුව මෙය ප්‍රචණ්ඩ අරගලයක් බවට පත්වුණා. මේ අවස්ථාවේදී හමුදාවත් ප්‍රචණ්ඩකාරීව හැසිරුණා.
වැරදි පෙන්වා දෙන්න උත්සාහ කරපු මාධ්‍යවේදීන්, අයහපත් නායකයන්ව අභියෝගයට ලක් කරපු යහපත් නායකයන් මෙන්ම, අපගේ පරිසරය රැක ගැනීමට උත්සාහ කරපු බොහෝ මිනිස්සුන්ව නිහඬ කරල මරලා දැම්මා.
මේ සෑම ප්‍රචණ්ඩකාරී ක්‍රියාවක් ම අවසන් වෙන්නෙ අපට බොහොම වේදනා හා විඳවීම් ඉතිරි කරමින්.
අපේ රටේ සිදුවන සියළුම හිංසනයන් යම්කිසි ඉදිරි දවසක ප්‍රතික්ෂේප කිරීමට හැකිවේවායි අපි ප්‍රාර්ථනා කරමු.





# අපි තීරණ ගන්නේ කොහොමද?

ප්‍රජාතන්ත්‍රවාදය කියන්නෙ, අපි හැමෝම එකතුවෙලා සතුටින් ජීවත් වීම සඳහා අපි අපිව ම සංවිධානය කරගැනීම, නීති සකස් කර ගැනීම, සහ තීරණ ගැනීමයි.

රටක විශාල මිනිස්සු ප්‍රමාණයක් ඉන්නකොට, නීති රීති සම්පාදනය කරන්න අපි හැමෝටම බැහැ. ඒ නිසා, අපි වෙනුවෙන් නීති හදන්න පිරිසක් වැඩිහිටියන් විසින් තෝරා පත්කරගන්නවා. මේ අයට තමයි අපි 'දේශපාලන නියෝජිතයො' කියන්නෙ.

අපගේ 'නියෝජිතයන්' විසින් අපව 'නියෝජනය' කළ යුතු වෙනවා. මේ අය විසින් හැමෝටම වරප්‍රසාද ලැබෙන ආකාරයට සාධාරණව නීති සකස් කරන්නත් අවශ්‍ය වෙනව.

තමාව තෝරා පත්කර ගත්තොත් අනාගතයේ යහපත වෙනුවෙන් කළ හැකි දේ මේ යැයි කියමින් වසර කීපයකට වතාවක් මේ විදිහට දේශපාලන නියෝජිතයන් අප හමුවට එනවා. මේ අතරින් වඩා යහපත් කියල හිතන පුද්ගලයාව වැඩිහිටියන් විසින් තෝරා පත් කරගන්නව. මේකට කියන්නෙ 'ඡන්දය' කියලා.

ප්‍රජාතන්ත්‍රවාදය කියන්නෙ බරපතල ක්‍රියාවලියක්.

නියෝජිතයින්ව තෝරා පත් කරගන්න කලින් අපිට බොහොම ගැඹුරින් හිතන්න වෙනවා. ඒ වගේම ඔවුන්ව තෝරා පත්කරගත්තට පස්සෙත්, අපි හරිම කල්පනාවෙන් ඉන්න වෙනවා විතරක් නෙවෙයි අපි ඒගොල්ලො ගැන සෝදිසියෙන් ඉන්න බව ඒ අයට දනවන්නත් ඕනේ. ඒ අය අපේ බලාපොරොත්තු කඩා බිඳ දැමුවොත්, නැවත ඒ අයවම පත්කරගැනීමෙන් වලකින්න ඕනේ.

නමුත් මේ ප්‍රජාතන්ත්‍රවාදය අපි හරියට ක්‍රියාත්මක කරන්නෙ නැහැ. නැවත නැවතත් එකම නියෝජිතයකුම පහසුවෙන් පත්කර ගැනීම වගේම, ඒ අයගේ ක්‍රියා කලාපය ගැන අවධානය අත්හැර දැමීම ඉතාම පහසුවෙන් කළ හැකි දෙයක්. ඒක අපි හරි පහසුවෙන් කරනවා. අපේ නියෝජිතයන් බලයෙ රැඳිල ඉන්න ඉතාම පහසු ක්‍රම හොයාගෙන තියනවා. ඒ විතරක් නෙවෙයි බලය යොදා ගනිමින් ඉතාම ආත්මාර්ථකාමී විදිහට ක්‍රියා කරනවා.

මේක අපි නිවැරදි කරගන්න ඕනෙ ප්‍රධාන ගැටළුවක්.



# අපිටම අපේ නායකයො වෙන්න පුලුවන්ද?

අපේ දේශපාලන නියෝජිතයන්ට අපේ 'නායකයො' කියල කතාකරන්න අපි පුරුදුවෙලා ඉන්නවා.

මේක වැරද්දක් වෙන්න පුලුවන්.

ඒගොල්ලො අපට වඩා හොඳ අය බවත්, විශේෂ සැලකිලි ලබන්න ඕනෙ පිරිසක් බවත්, ඒ අය නීතිවලට ඉහළින් ඉන්න බවත් ඒ අයට ඒත්තු ගන්නල තියෙන්නේ අපිමයි.

අපි එකිනෙකා එක්ක කුළල් කාගන්න තත්ත්වයට අපිව පත් කළේ මේ අයයි. ඒ වගේම මේගොල්ලො අපට හොඳින් සළකල නැහැ. දීපු පොරොන්දු බොහොමයක් කඩ කරල. බොරු කියලා.

මේ අය අතරිනුත් දරුණුම අය අපේ දේවල් හොරකම් කරා. ඒ විතරක් නෙවෙයි අපෙන් සමහරෙකුගේ ජීවිතය පවා නැති කළා.

අප රටේ ප්‍රධාන දේශපාලන නියෝජිතයා වෙන්නේ ජනාධිපති. එයාට බොහොම බලතල තියනවා. ඇත්තෙන්ම කියනවනම් බලය වුවමනාවටත් වඩා වැඩියි. බොහෝ බිහිසුණු දේ කිරීමටත් මේ බලය එයාට යොදාගන්න පුළුවන්. බොහෝ දෙනෙකුගෙ මතය වෙන්නෙ අපිට ජනාධිපති කෙනෙක් අවශ්‍ය නැති බවයි. එහෙම කෙනෙකුගෙන් වෙන්නෙ ප්‍රශ්න තවත් වැඩිවෙන එක විතරයි.

මේ වෙනකොට අපේ ජනාධිපතිවරයා ගෝඨාභය රාජපක්ෂ.

වැඩි ප්‍රමාණයක් විරෝධතා තියෙන්නෙ එයාට සහ එයාගෙ පවුලට විරුද්ධව. ඒ ඇයි කියල දිගටම කියවගෙන යනකොට තේරෙයි.

අපිට වෙනත් වර්ගයේ නායකයන් අවශ්‍යයි. අපිට වැදගත් වෙන දේවල් මොනවද කියන එක තේරුම්ගන්න පුළුවන්, අප අතරින්ම බිහිවෙන  නායකයො. ඇහුම්කන් දෙන්න පුළුවන්, අපට, අපේ රටට ආදරය කරන, කරුණාවන්ත, නිර්භීත නායකයො අපි හැම දෙනාවම එක තැනකට ගේන්න පුලුවන් නායකයො.

නායකයෙක් වෙන්න ඕනෙ කරන වෙනත් ගුණාංග මොනවද කියල ඔයාට හිතන්න පුලුවන්ද?



# බලය තියන අය රවට්ටන විට

දූෂණය කියන්නෙ බලවත් මිනිස්සු තව තවත් බලවත් වෙන්න, පෝසත් වෙන්න හිතල ඒ අයගේ බලය වැරදි දේවල් කරල අපව රිදවන්න භාවිතා කරන එකට.

ඔයා පොඩ්ඩක් හිතන්න ඔයාගෙ දවල් කෑම එක හැමදාම ඔයාගේ ගුරුවරයා හොරකම් කරනවා. ඉතින් ඔයා ගිහින් විදුහල්පතිතුමාට කියනවා. ඒත් එයා දඬුවම් කරන්නෙ ඔයාට කියලා.

එතකොට ඔයාගේ ගුරුවරයයි විදුහල්පතිවරයයි කියන දෙන්නම දූෂකයෝ වංචාකාරයෝ කියලා ඔයා හිතන එක හරි. එහෙම කියන්නෙ ඒ දෙන්නම ඔයාට වැඩිය බලවත්. ඒ වගේම ඔයාව රිදවන්න ඒ දෙන්න එකට එකතු වෙනවා.

ඉතින් මේකට මොනයම්ම හෝ ක්‍රියා මාර්ගයක් ගත්තෙ නැත්තම් ඔයාගේ ගුරුවරු හැමෝම මේ විදිහට හැසිරෙන්න පටන් ගනියි. ඒ කියන්නෙ ළමයින්ගෙන් හොරකම් කරල ළමයින්ට ම දඬුවම් දෙයි.

මෙහෙම වැඩි කාලයක් යන්න කලින්, ඔයාගේ ගුරුවරු මේ පුරුද්දට මොන තරම් ඇබ්බැහි වෙනවද කියනවනම් මේක වැරද්දක් කියන එකත් ඒගොල්ලොන්ට අමතක වෙලා යයි. අන්තිමේදී වෙන්නෙ ඔයගොල්ලෝ හැමෝටම බඩගින්නෙ ඉන්න වෙන එක විතරක් නෙවෙයි ඉස්කෝලෙ යන එකත් එපා වෙන එක.

අපේ රටටත් මේ වගේ දෙයක් වසර ගණනාවක් තිස්සේ සිද්ධ වෙමින් තියනවා කියල මම කිව්වොත් ඔයාට මොනවා හිතෙයිද? අපේ දේශපාලකයන් බොහෝ කාලයක ඉඳලම ක්‍රියා කරලා තියෙන්නෙ මේ විදිහට. ඒගොල්ලොන්ගේ දූෂණය එන්න එන්නම වැඩිවෙලා.

ඒ අය ඔයාගෙත් මගෙත් මුදල් සොරා කාලා. ඒ විතරක් නෙවෙයි ඔයාගෙ දරුවෝ, ඒ දරුවන්ගේ දරුවො, මේ විදිහට තවම ඉපදිලාවත් නැති පරම්පරාවෙනුත් කොල්ල කමින් ඉන්නවා.





# ඔයා දන්නවද මගෙ තාත්ත කවුද කියල?

ඥාති සංග්‍රහය කියන දේත් තවත් ආකාරයක දූෂිත ක්‍රියාවක් විදිහට සලකන්න පුළුවන්.

ඥාති සංග්‍රහය කියන්නෙ රටක බලයෙ ඉන්න අය තම ඥාති හිත මිතුරන්ට උසස් රැකියා ලබා දීමයි. මෙසේ කරන්නේ ඒ රැකියා සඳහා ඒ පුද්ගලයන්ට වඩා සුදුසුකම් ඇති අය සිටින තත්ත්වයක් යටතේදියි.

අපේ ජනාධිපති ගෝඨාභය රාජපක්ෂ මහතාගේ සහෝදරයා වන මහින්ද රාජපක්ෂ මහතා 2022 මැයි මස 9 දක්වා මේ රටේ අගමැති ධුරය දැරුවා. මීට කලින් මහින්ද රාජපක්ෂ මහතා ද ජනාධිපති වෙලා හිටියා. ගෝඨාභයට බලසම්පන්න රැකියාවක් ලබාදුන්නේ මොහුයි. ඒ වගේම ඔවුන්ගේ සහෝදරයන් වන බැසිල්, චමල්, වගේම මහින්දගේ එක් පුතෙක් වන නාමල් මෙන්ම පවුලේ සාමාජිකයන් බොහොමයක් අපේ රටේ උසස් නිලතල දරන අය.

ඥාති සංග්‍රහ සම්බන්ධ දීර්ඝ ඉතිහාසයක් ලංකාවට තියනවා. ඒ ඉතිහාසයට හිමිකම් කියන්නේ රාජපක්ෂවරු විතරක් ම නොවේ.

ඥාති සංග්‍රහය ඇති රටක් රහසිගත ක්ලබ් එකක් විදිහටත් ක්‍රියාත්මක වෙනවා. රටේ තියන වැදගත් රැකියා, සුදුසුකම් තියන වැදගත් පුද්ගලයන්ට ලැබෙන්නෙ නැහැ. ඒ වෙනුවට ඒ රැකියාවල් වෙනුවෙන් තමන්ගේ සමීප සම්බන්ධතාවයන් තියන අයව තෝරා පත්කරගන්නවා. තමන් දූෂිත නිසාත්, කරන්නේ මොනවාද යන්න ගැන පැහැදිලි අවබෝධයක් නැති නිසාත්, ඒගොල්ලො කරන්නේ වැරදි තීරණ ගන්න එක. ඒ අය එන්න එන්නම තමන්ගේ බලය වැඩිකරගන්නවා. පොහොසත් වෙනවා. ඒකෙ ප්‍රතිඵලයක් හැටියට මුළු රටේම ජනතාවට ඒකෙ වන්දිය ගෙවන්න සිදු වෙනවා.

නැවත නැවතත් දීර්ඝ කාලීනව මෙහෙම සිද්ධ වෙනකොට ප්‍රශ්න තව තවත් බැරෑරුම් වෙනවා.

මේ මොහොත වෙනකොට අපේ රටේ බොහොමයක් දේවල් වැරදිලා ඉවරයි. මේ අතරෙ මිනිස්සු ජීවත් වෙන්න පොර බදනවා.



# අපි මෙය ආරක්ෂා කරගන්නෙ කොහොමද?

අපේ මේ පුංචි දූපතට අයිති භූමිය හරිම වටිනවා.

අපිට ඕනෙ හැම දෙයක්ම එයින් අපට ලැබෙනවා.

අපි මේ වටිනා භූමිය එකිනෙකා සමඟත්, ස්වභාව ධර්මය සමඟත් බෙදාහදාගත යුතු වෙනවා. භූමියට හානියක් කරන එක අපිටම හානි කරගන්නව වගේ වැඩක්.

බලවත් රටවල් සහ ආයතන බොහොමයක් අපේ භූමියට බැල්ම හෙලාගෙන ඉන්න වග අවාසනාවකට වගේ අපි (සහ අපගේ දේශපාලකයන්) විසින් භූමිය සම්බන්ධව ආත්මාර්ථකාමී නරක තීරණ අරගෙන තියනවා. අපි අපේ භූමියට එක්කෝ හානි කරල තියනවා එහෙමත් නැත්තම් භූමියට හානි කරන අයෙකුට පවරලා තියනවා. අපි විතරක් නෙවෙයි, අපේ භූමියේ ජීවත් වෙන සතා සිවුපාවා, හැදෙන ගහකොළ පවා මේ නිසා වේදනාවට පත්වෙලා.

මීට අවුරුදු කීපයකට කලින්, 2013 දී, රතුපස්වල කියන ප්‍රදේශයේ තිබුණු කර්මාන්ත ශාලාවක් නිසා අවට ජලය දූෂණය වෙන බව සොයා ගැනුණා. ප්‍රදේශවාසින් ඒ වෙනුවෙන් විරෝධතාවල යෙදුණා. නමුත් ඒගොල්ලන්ට සිද්ධ වුණේ එතනට ආපු හමුදාවෙ සොල්දාදුවන්ගේ වෙඩි පහරට ලක්වෙන්නයි. විරෝධතාකරුවෝ තුන්දෙනෙක්ම ඒ වෙලාවේ වෙඩි පහරින් මරණයට පත්වුණා.

2022 වසරේ මේ වන විටත් මේ මරණ වලට වග කියන කෙනෙක් නැහැ.

පහුගිය අවුරුද්දෙ, ඒ කියන්නෙ 2021, විෂ රසායන ද්‍රව්‍ය සහ ප්ලාස්ටික් පටවපු එක්ස්ප්‍රස් පර්ල් කියන විශාල නෞකාව අපගේ වෙරළාසන්නයේ ගිනි ගැනීමකට ලක්වුණා. දවස් දොළහක් පුරා මේ ගින්න ඇවිලුණා. මෙම පාරිසරික විනාශය අපගේ භූමියට, මුහුදු ජීවීන්ට වගේම මිනිසුන්ට විශාල හානියක් කළා.

අපි අපේ රටේ භූමිය මේ මොහොතේ හොඳින් රැක බලාගත්තේ නැත්තම් ඔයගොල්ලො ලොකු වුණාම මේ රටේ ගතකරන ජීවිතය මොන වගේ එකක් වෙයි කියලද හිතන්නේ?



# වසංගතයක් කියන්නෙ මොකද්ද?

කොවිඩ්–19 කියන්නෙ මාරාන්තික වෛරස් ප්‍රභේදයක්.

වෛරසයක් හැදිලා තියෙන්නෙ අපේ පියවි ඇහැටවත් පේන්නේ නැති ඉතා කුඩා අංශුවලින්. මිනිස්සු, සත්තු වගේම ගස්වැල් වලටත් රෝග බෝ කිරීමේ හැකියාව වෛරසයකට තියනවා. වෛරසයක් එක් කෙනෙකුගෙන් තවත් කෙනෙකුට ඉතා ඉක්මනට පැතිරෙනවා. මේ විදිහට වෛරසයක් මුළු ලෝකය පුරාම පැතිරෙනකොට අපි ඒකට වසංගතයක් කියලා කියනවා.

වසර 100ට අධික කාලයකට පස්සෙ ඇතිවුණු දරුණුම ගෝලීය වසංගතය මේකයි. ලෝකෙ බොහොමයක් රටවල් මෙයට මුහුණ දුන්නා. ඒ වගේම තමන්ගේ රටේ පුරවැසියන් මෙම රෝගයෙන් ආරක්ෂා කරගැනීමට විවිධ ක්‍රම අත්හදා බැලුවා. සමහර රටවල් ඔවුන්ගේ රටට ඇතුළු වීම හා රටෙන් පිටවීම නවතා දැමුවා. තවත් සමහරු මිනිසුන්ට නිවෙස් තුළටම වී ඉන්න කියා අවවාද කළා. තවත් සමහරු සාමාන්‍ය පරිදිම ජීවිතය ගත කළා. බෙහෝ අය මේ දේවල් වලින් කීපයක්ම අත්හදා බැලුවා.

කොවිඩ්–19න් ලංකාවටත් දරුණු බලපෑම් එල්ල වුණා. ඔයා වගේම අනිත් පාසල් සිසුන් බොහෝ දෙනෙක් මේ වසංගතය නිසා පීඩාවට පත් වුණා. ඔයාගෙ ඉස්කෝලෙ මොන තරම් කාලයක් වහල තිබුණද?

මේ වසංගතය නිසා වෙනත් රටවල සේවය කරන ලාංකිකයන් බොහොමයකගේ රැකියා අවස්ථා අහිමි වුණා. ඒ අයට තමන්ගේ පවුල්වලට මුදල් එවන්න බැරුව ගියා. කොවිඩ්–19 නිසා ලංකාවෙත් බොහෝ පිරිසකට රැකියා අහිමි වුණා. සංචාරකයන් ආවෙත් ඉතා සුළු පිරිසක්. මේ සියලුම හේතු නිසා අපේ රට එන්න එන්නම දුප්පත් වුණා.

අපේ රටේ දේශපාලකයෝ අනෙකාට වෙනස් විදිහට සලකන්න කොවිඩ්–19 යොදාගත්තා. කොවිඩ්–19 වෛරසයෙන් මියගිය මුස්ලිම් පවුල්වල සාමාජිකයන්ගේ මළ සිරුරු වල දැමීමක් නොකොට ආදාහනය (පිලිස්සීම) කිරීමට බල කරා.

මේ නිසා ඒ වන විටත් දුඃඛිත තත්ත්වයකට පත්වෙලා තිබුණු ජීවිත වලට තව තවත් වේදනාවන් එකතු වුණා.



# සල්ලිවලට මොකද වුණේ?

මිනිස්සුන්ට දේවල් මිලට ගන්න සල්ලි ඕනෙ.

අපි සල්ලි හම්බ කරන්නෙ මොනවහරි වැඩක් කරල. ඊට පස්සෙ අපි තීරණය කරනවා ඒ සල්ලි වියදම් කරන්නෙ කොහොමද කියලා. නමුත් අපට ඕන කරන හැම දෙයක්ම, හැම මොහොතකම අපට ලබාගන්න බැහැ. ඒ නිසා අපට තෝරා ගැනීමක් කරන්නම වෙනවා. මේකට අපි 'අයවැයකරණය' කියල කියනවා.

ගෙයක් හදන්න, වාහනයක් ගන්න වගේ දේකට විශාල මුදල් ප්‍රමාණයක් වැයවෙනවා. එතකොට අපි බැංකුවකින් මුදල් ඉල්ලගන්නවා. ඊට පස්සෙ හෙමිහිට ඒ සල්ලි ආපහු බැංකුවට ගෙවල දානවා. මේකට අපි කියනවා 'බැංකු ණයක්' කියලා.

රටවල්වලටත් මුදල් අවශ්‍ය වෙනවා. පාසල්, මාර්ග, රෝහල් වගේ තමන්ට අවශ්‍ය සේවාවල් ලබාගන්න මිනිස්සු තමන් හම්බ කරන දේවල් වලින් කොටසක් තමන්ගේ රටට දෙනවා. අපි ඒකට කියන්නෙ 'බදු අය කරගැනීම' කියලා.

රටවල් වුනත් තමන්ගේ ආදායම සහ වියදම හරි විදිහට තීරණය කරන්න ඕනෙ. ඒ වගේම ඉතුරු කරන්නත් ඕනෙ. අවශ්‍ය වෙලාවල්වලට අනෙකුත් රටවල්වලින් හරි ධනවත් ව්‍යාපාරයන්ගෙන් හරි මුදල් ලබාගන්නත් සිද්ධ වෙනවා.

මේ වන විට ලංකාව මුදල් අර්බුදයකට මුහුණ දීල තියනවා.

- අපට අවශ්‍ය සියළු දේ අප විසින් නිශ්පාදනය කරන්නෙ නැහැ. ඒවා අනෙක් රටවලින් මිල දී ගන්න විදේශ විනිමය වුවමනා වෙනවා.
- කොවිඩ්–19 නිසා අපේ රටට ගලා ආපු විදේශ විනිමය ප්‍රමාණය අඩුවුණා.
- අපේ මුදල් බොහොමයක් දූෂණය නිසාම හොරා කෑමට ලක්ව තිබෙනවා.
- දුර්වල අයවැයකරණය නිසා අපි වියදම් කළේ අත්‍යවශ්‍යම දේ සඳහා නෙවේ. (පාසැල් වෙනුවෙන් වැය කරන මුදල මෙන් තුන් ගුණයක් හමුදාව වෙනුවෙන් වැය කළා).
- වැරදි තීරණ නිසා නැවත ගෙවාගන්න බැරි තරමේ ණය ලබාගත්තා. ඒ වගේම බදු අය කිරීම අඩු කළා.

මේ මොහොතේ අපට අවශ්‍ය මුදල් ප්‍රමාණය අප සතුව නැහැ.



# ගෑස් පෝලිමේ ඉන්නෙ කවුද?

අපිට ඉන්ධන අවශ්‍යයි. වාහන ධාවනයට, විදුලි උත්පාදනයට වගේම ආහාර සකස් කර ගන්න, පෙට්‍රල්, ඩීසල්, භූමිතෙල්, ගෑස් වගේ ඉන්ධන අපට අවශ්‍ය වෙනවා.

ලංකාවෙන් මේ ඉන්ධන ලබාගන්න හැකියාවක් නැහැ. ඒ නිසා ඒවා බහුලව තියන අනෙකුත් රටවල්වලින් මිල දී ගන්න සිද්ධ වෙනවා. විදේශ විනිමය නැතුව ඒක කරන්න බැහැ.

2021 වසරේදි මිනිස්සු උයන්න පිහන්න පාවිච්චි කරපු ගෑස් සිලින්ඩර හදිස්සියේ පුපුරන්න පටන් ගත්තා. මේ නිසා ගොඩක් නිවාසවලට වගේම මිනිස්සුන්ට හානි සිද්ධ වුණා. මුදල් ඉතිරි කර ගැනීමේ අරමුණ ඇතුව ගෑස් හිමිකාර ආයතන ඒවායේ සංයුතිය වෙනස් කරල තියන බවත්, ගෑස් සිලින්ඩර පිපිරීමට හේතුව ඒ බවත් පසුව දැන ගන්න ලැබුණා.

2022 වසර වෙද්දි වාහන සඳහාවත්, විදුලි බලය නිෂ්පාදනය සඳහාවත් අවශ්‍ය ඉන්ධන අප සතුව නැහැ. රට පුරා විදුලි කප්පාදු, ඉන්ධන පිරවුම්හල් අසල දිග පෝලිම් තියෙන්නෙ මේ නිසා. ඉන්ධන පෝලිම්වල සිටින විට පුද්ගලයන් කීපදෙනෙකු මරණයට පවා පත් වුණා.

යම්කිසි දෙයක් හිඟ වනකොට ඒ වගේම ඒ දෙයම බොහෝ පිරිසකට අවශ්‍ය වෙනකොට එහි මිල ඉහළ යනවා. අපේ ඉන්ධන වලටත් වෙලා තියෙන්නෙ මේ දේමයි. ඒ වගේම ඉන්ධන මිල ගණන් ඉහල යනකොට ඒ හා සමානව අනිත් භාණ්ඩ සහ සේවාවන් වල මිලත් ඉහළ යනවා. ඒකට හේතුව තමයි යන්ත්‍ර සූත්‍ර ක්‍රියා කරන්න, කර්මාන්ත ශාලාවලට, විදුලි බලය උත්පාදනයට වගේම ප්‍රවාහනයට යොදා ගන්නා වාහන ධාවනයටත් ඉන්ධන යොදාගන්න නිසා.

ඉතින් අපේ මූල්‍ය අර්බුදය ඉන්ධන අර්බුදයක් දක්වා ගමන් කරල තියනවා විතරක් නෙවෙයි මේ නිසා මූල්‍ය ගැටළුව තවත් දරුණු අතකට හැරිල තියනවා.

‘විෂම චක්‍රයක්’ විදිහට අපි මේක හඳුන්වනවා.



# මොකද්ද වැරදුණේ?

අපේ රටේ සැළකිය යුතු පිරිසක් ගොවියෝය.

ගොවියන් කරන්නේ අප ආහාරයට ගන්නා දේවල් පසේ වගා කරන එකයි. හාල්, එළවලු, පළතුරු, අපේ පස කාලයක් ඉතාම සාරවත්ව තිබුණා . ඒ කියන්නෙ පැළවලට අවශ්‍ය පෝෂ්‍ය පදාර්ථ මේ පසේ බහුලව තිබුණා. එහෙම වුණත් පිට පිටම එකම පසේ වගා කරනකොට පස නිසරු වෙනවා. ඒක හරියට එකම තණකොළ ගොඩක ඔබ බෝලයක් දිනපතා බවුන්ස් කළොත්, තණකොළ ගොල්ල ටික කාලයකින් කහ පාට වෙලා මැරිලා යනව වගේ දෙයක්.

ඉතින් අපේ පසට මෙහෙම වෙනකොට ගොවියො කරන්නෙ ‘පොහොර’ කියල දෙයක් මේකට එකතු කරන එක. එහෙම කරන්නෙ ඒ නිසරු වුණ පසෙහි වැවෙන බෝග වලට පෝෂණයක් ලබල දෙන්න. ඒත් පමණට වැඩිය පොහොර යොදන එකත් අපට වගේම පරිසරයටත් අහිතකරයි. විශේෂයෙන්ම ඒ පොහොරවල අඩංගු රසායනික ද්‍රව්‍ය ප්‍රමාණය වැඩිනම්.

ප්‍රශ්නය විසදාගන්න තිබුණ මේ ගැන හොඳින්ම දන්නා අයත් එක්ක කතා කළා නම්. ඒ කියන්නෙ වගා කරන අය නැත්තම් ගොවියො සහ රසායනික ද්‍රව්‍ය ගැන අධ්‍යයනය කරන විද්‍යාඥයන් සමඟ.

මේ කිසිවකුගේ අදහස් නොවිමසූ ජනාධිපතිතුමා, තවදුරටත් කිසිවෙකුට පොහොර භාවිතා කළ නොහැකි බව ප්‍රකාශ කළා. මෙවැන්නකට සුදානම්ව නොසිටි ගොවීන් බොහොමයකට ඔවුන්ගේ අස්වැන්න හා මුදල් අහිමි වුණා. මේ නිසා මේ වෙනකොට අපේ රට ඇතුලේ වගා කරපු ආහාර ඉතිරිවෙලා තියෙන්නෙ ඉතාම කුඩා ප්‍රමාණයක් විතරයි.

අයහපත් නායකත්වය විසින් ගන්න දුර්වල තීරණ වලට කදිම උදාහරණයක් ලෙසට අපට මේ සිද්ධිය සලකන්න පුළුවන්.



# අපිට බඩගින්නෙ ඉන්න වෙලා තියෙන්නෙ ඇයි?

ආහාර කියන්නෙ මිනිසාගේ ශරීරයට ඉන්ධන වගේ අත්‍යවශ්‍ය දෙයක්.

සමහර දේවල් නැතුව අපට ජීවත් වෙන්න පුළුවන් වුණත් ආහාර නැතුව දිග කාලයක් ජීවත් වෙන්න අපහසුයි.

හැමෝටම අවශ්‍ය වන ආහාර හැම මොහොතකම තියෙන්න ඕනෙ. නමුත් පහුගිය කාලෙ ගත්ත නොයෙක් තීන්දු තීරණ නිසා අපේ රට ඇතුලෙ ඒවා වගා කරනවාටත් වඩා අනෙකුත් රටවල්වලින් ඒවා මිලදී ගැනීම ලාභදායී වෙලා තියනවා.

මේ වනකොට අනිත් රටවලින් ආහාර ලබා ගැනීමට අපට මුදල් නැති නිසා, ආහාරවල මිල එකවරම ඉතා ඉහළ ගිහින්.

බොහෝ පවුල්වලට ඉතා දුෂ්කර තීරණ ගන්න සිදුවෙලා තියනවා සමහර ආහාර වර්ග පාවිච්චිය නවත්තලා, වේල් තුනම ආහාර ගන්න එක නවත්තලා, ඒ විතරක් නෙවෙයි සමහර විට ආහාර ඉල්ලමින් හිඟා කන්නත් සිද්ධ වෙලා.

ගොඩක් මිනිස්සු ආහාර නැති අයට උපකාර කරනවා. තම දරුවන්ගේ කුසගිනි නිවන්න අවශ්‍ය ආහාර මිලදී ගන්න සල්ලි හොයන්න සමහර දෙමාපියන්ට රැකියා කිහිපයක යෙදෙන්න සිද්ධ වෙලා. ඒ ප්‍රශ්නය දවසින් දවස උග්‍ර අතට හැරෙනවා.

පෝෂණ ගුණයෙන් පිරුණු ආහාර වේලක් නොලැබීම නිසා එය දරුවන්ගේ වර්ධනයට හා ඉගෙනීමට අහිතකර බලපෑම් ඇති කරනවා.

මිනිස්සුන්ට බඩගිනි වෙනකොට, රැකියාවල් නැතිකොට, දේශපාලකයො ඒවාට විසඳුම් ලබා දෙන්නෙත් නැතිකොට මිනිස්සු තව තවත් අසහනයට පත් වෙනවා.

මේ තත්ත්වය හරිම ඛේදනීයයි. මේක මෙහෙම නෙවෙයි සිද්ධ වෙන්න තිබුණේ.



# මොකද්ද මේ අර්බුදය?

ප්‍රශ්න විසඳාගැනීමට නොහැකි තරමට දරුණු තැනකට ගියාම අර්බුදයක් නිර්මාණය වෙනවා.

සමහර විට ප්‍රශ්න ගණනාවක් එකට එකතු වෙලා ඒකෙ ප්‍රතිඵලයක් විදිහට විශාල ප්‍රශ්ණයක් ඇතිවුණහමත් එතන අර්බුදයක් නිර්මාණය වෙනවා. එහෙම වුණහම ඒකට විසඳුමක් නැහැ වගේ හැඟීමක් එනවා.

අපි මේ තරම් වෙලා කතා කරපු හැම දේකින්ම පෙනී යන දෙයක් තමයි ලංකාවේ මෙතෙක් ඇති වුණ විශාලතම අර්බුදයකට අපි මේ වෙනකොට මුහුණ දෙමින් සිටින බව.

අපේ මිනිස්සුන්ට වෙනස් විදිහට, ප්‍රචණ්ඩකාරී විදිහට සලකල තියනවා. අපේ නායකයෝ වැරදි තීරණ අරගෙන, අපෙන් සොරාකාල තියනවා. මේ හින්ද අපට මුදල් අඩුවෙමින් යනවා. ඉන්ධන මිල අහස උසට නැගලා. මිනිස්සු බඩගින්නෙ, සමහර මිනිස්සු මැරිලා.

මේ වගේ අර්බුදකාරී අවස්ථාවක ගමන් කරන්න පුළුවන් මාවත හොයන්න අපි හැමෝම එකා වගේ සිහි බුද්ධියෙන් කටයුතු කරන්න ඕනෙ.

නමුත් තවමත් දේශපාලකයන් හැසිරෙන්නේ කිසිම වගකීමක් නැතුව, හරියට කිසිම ප්‍රශ්නයක් නැහැ වගේ. එහෙමත් නැත්තම් ඒක ඒ අයගෙ ප්‍රශ්නයක් නෙවෙයි වගේ.

අපේ ජනතාව කලකිරිලා විරෝධතා කරන්නෙ මෙන්න මේ නිසා.



හදවත
දිරිය සහ
හුස්ම

අපි
ඒ ගැන
කරන්නේ
කුමක්ද?






# අපේ බලය සොයා ගැනීම!

අපි හැමෝම ශ්‍රී ලංකාවේ පුරවැසියන්.

මේ රට අපි හැමෝටම යහපත් තැනක් කර ගන්න අපි සියල්ලෝම එකාවගේ කටයුතු කරන්න ඕනෙ.

අපිම නියෝජිතයන් පත් කරගෙන අප විසින්ම මේ රට ඒ අයට බාර දුන්න කාලය දැන් ඇති. අද වනවිට අපි අර්බුදයට මැදිව සිටින්නෙත් ඒ නිසාමයි.

වරද පටවන්න ඕනෙ දේශපාලකයන්ටයි.

නමුත් අපිත් මේකට වග කියන්න ඕනෙ.

මීට කලින් ප්‍රශ්න ඇති වුණු වෙලාවෙ ඒකෙන් බැට කැවෙ මිනිස්සුන්ගෙන් 'කොටසක්' විතරයි. (මතකයි නේද වෙනස් විදිහට සලකන එක ගැන කතා කළා?)

'සමහර මිනිස්සුන්ට' වෙනස් විදිහට සලකනකොට 'සියලුම මිනිස්සු' ඒකට එරෙහි නො වුණොත් මේ ක්‍රමය වෙනස් කරන්න බැහැ.

මේ වතාවෙ අර්බුදය මොන තරම් දරුණු ද කියනවනම් සියළු දෙනාම ඒකෙන් බැට කනවා.

මුල් වතාවට අපට දැනෙන්න පටන්ගන්නවා අපි හැමෝම එක සැරේ වෙනසක් ඉල්ලනවා කියල. ඒත් මතක තියාගන්න ඕනෙ. සමහර අයට විරෝධතා දක්වන්න පහසුයි. ඒ වගේම භයංකර බව අඩුයි. ඒකට හේතුව තමයි අපේ ජනවර්ගය, භාෂාව එහෙමත් නැත්තම් පැලැන්තිය විසින් අපිව ආරක්ෂා කරන එක මෙන්න මේකටයි "වරප්‍රසාද"කියන්නෙ.

මේ වෙලාවෙදි අපි අනිත් හැමෝම ගැනත් සැලකිලිමත් වෙන්න ඕනෙ. ඒ වගේම අපට ලැබිල තියන මේ වරප්‍රසාදය හොඳ විදිහට ක්‍රියාවේ යොදවන්න ඕනෙ.

මෙන්න මෙහෙම වුණොත් තමයි පුරවැසියන් විදිහට අපිට සාමූහිකව එකතුවෙලා වෙනසක් කරන්න පුළුවන් වෙන්නෙ.



# එකට එකතු වීම!

මීට කලිනුත් අරගල තිබිල තියනව. ඒත් මේ සැරේ අරගලේ ස්වරූපය වෙනස්.

මුල් වතාවට අපට හැඟෙනවා අපි හැමෝම අපේ අයිතිවාසිකම් වෙනුවෙන් හඬ නගනවා කියලා. ඒ වගේම දේශපාලකයොත් එක්ක කේන්තියෙන් වෙනසක් වෙනුවෙන් පෙනී ඉන්නවා කියලා.

අපෙන් බොහෝ දෙනෙක් රටේ තියන දැවෙන ප්‍රශ්න ගැන වගේම පුද්ගල අනන්‍යතාව නිසා ඒ අයට කොහොමද වෙනස් විදිහේ සැලකුම් ලැබෙන්නේ කියන එක ගැනත් කතා වෙනවා. බොහෝ තරුණ පිරිසක් මෙම කතිකාවට නායකත්වය දෙමින් ඉන්නවා . ඔවුන් යමක් 'උරමත තබාගත් පිරිසක්' නෙවෙයි. ඒ කියන්නෙ ඒ පිරිස මීට කලින් පරම්පරාවල ඉතා නරක විදිහේ වැරදි කරපු කොටසට අයිති නොවෙන හින්ද.

"දෙමළ, මුස්ලිම්, LGBTQI ප්‍රජාවට සලකන විදිහ වැරදියි" කියල ඒ අයට හඬ නගා ප්‍රකාශ කරන්න පුළුවන්. ඒ වගේම "අපි මීට වඩා යහපත් විය යුතුයි" කියන දේත් ඒ අයට කියන්න පුළුවන්.

ප්‍රධාන අරගල භූමිය තියෙන්නෙ කොළඹ ගෝල් ෆේස් පිට්ටනියේ. අරගලකරුවන් ඒක නම් කරලා තියනව 'ගෝටාගෝගම' කියලා. ඒ නම හැදුනේ ජනාධිපති ගෝඨාභයට තනතුරෙන් ඉවත් වෙන්න කියල කරපු මුල්ම බලපෑමෙන් පස්සෙ. නමුත් අරගලය රට පුරාම ක්‍රියාත්මක වෙනවා. අරගලකරුවන් තමන්ගේ ඉල්ලීම් ඉල්ලල කෑ ගහනවා. සමහරු පුවරු අල්ලගෙන ඉන්නවා. සමහරු සින්දු කියනවා. සමහරු නාට්‍ය රඟ දක්වනවා,කතා පවත්වනවා. හැමෝම ඒ අයගෙ ඉල්ලීම් මොන විදිහකින් හරි ඇහෙන්න සලස්සනවා.

පුරවැසි අරගලය ඇතුලෙ පුරවැසියන් විදිහට අපි ප්‍රසිද්ධ පොදු ස්ථාන පාවිච්චියට ගන්නවා. බලයේ ඉන්න අයට මේ අපගේ රට යැයි අපි පෙන්වා දෙනවා.





අයිතිවාසිකම්

# අපි හැමෝටම ඒව තියනව!

අයිතිවාසිකම් කියන්නෙ අපි හැමෝටම සාධාරණ විදිහට සැලකුම් ලැබීම, තමන්ගේ සිහින පසුපස හඹා යන්න ඇති නිදහස සහ ඒ වගේම ජීවත් වෙන්න අවශ්‍ය මූලික දේවල් සපුරාගැනීමයි.

හැම මනුස්සයෙකුටම අයිතිවාසිකම් තියනවා. අපි ඉපදුණේ ම ඒ අයිතීන් එක්ක. රටක් ඒවා මිනිසුන් වෙනුවෙන් ආරක්ෂා කරන්න ඕනෙ.

අපට තියන සමහරක් අයිතීන්:

- වෙනස් සැළකීම්වලට ලක් නොවීම හා සමාන සැළකිලි ලැබීම.
- අපගේ නියෝජිතයන් තෝරා පත්කර ගැනීම.
- ප්‍රජාතන්ත්‍රවාදය වෙනුවෙන් සහභාගී වීම.
- මැදිහත් වීමකින් තොරව අපගේ විශ්වාසයන් අනුගමනය කිරීමට හැකිවීම.
- අපගේ භාෂාවට ඇති ගරු කිරීම හා නිදහසේ එය කතා කිරීමට ඇති හැකියාව.
- අපගේ විශ්වාසයන් ප්‍රකාශ කිරීම.
- යම් දේවල් සොයා ගැනීම් හා ගවේෂණය කිරීම.
- පීඩාවන්ගෙන්, ප්‍රචණ්ඩත්වයෙන් ආරක්ෂාව ලැබිය හැකි වීම.
- හැකි හොඳම සෞඛ්‍ය පහසුකම් ලබා ගැනීමේ හැකියාව.
- කුසට ආහාරයක් සහ ගතට ඇඳුමක් ලබා ගැනීමේ හැකියාව.
- පාසැල් ගොස් ඉගෙනීමට ලැබීම.
- ආරක්ෂාකාරී නිවෙසක් තිබීම.
- විවේකය හා ක්‍රීඩා කිරීම.
- අනිසි සැලකීම්වලට ලක් නොවීම හා කුරිරු හෝ හානිකර දඬුවම් වලට ලක් නොවීම.
- අප රට තුළ ජීවත් වීමට ආරක්ෂාකාරී පසුබිමක් නොමැති තත්ත්වයක් තුළ තවත් රටක සරණාගතයකු බවට පත් වීම.

අප සැමට විරෝධතා දැක්වීමේ අයිතිය තියනවා.
මේ මොහොත වෙනකොටත් අපි මේ අයිතිය භාවිතා කරමින් ඉන්නවා.
“විරෝධතාකරුවන්ට විරෝධතා කරන්න ඉඩදෙමි” යන ජනපතිවරයාගේ කීම වරදක් වන්නේ මේ නිසාය.
අපට ඔහුගේ අවසරය අවශ්‍ය වෙන්නෙ නැහැ.



ඉල්ලීම්

# මොනවද අපිට ඕනෙ?

මිනිස්සු කරන මේ අරගලයෙන් වෙනසක් සඳහා ඉල්ලීම් කරනවා.
ඒත් ඒ මොනවද?
එක ප්‍රධාන ඉල්ලීමක් නම් ජනාධිපති සහ ඔහුගේ පවුලේ සාමාජිකයන්ට තනතුරුවලින් ඉවත්වෙන ලෙස කරන ඉල්ලීම.

ඒත් සමඟ කරන වෙනත් ඉල්ලීම් තියනවා.

- දේශපාලකයන්ට ඔවුන් සොරා කෑ මුදල් ආපසු ලබා දෙන ලෙස.
- වඩා යහපත් නියෝජිතයන් - කරුණාවන්ත හා අවංක පුද්ගලයන්.
- අයථා නීති රීති වෙනස් කරන ලෙස (උදා - නැවත කිසි දිනක අපට ජනාධිපතිවරයෙකු අවශ්‍ය නොවේ).

වැඩි පිරිසක් විරෝධයට එකතු වෙනකොට සහ අපේ හඬ නැඟීම තව තවත් ප්‍රබල වෙද්දි, වෙනත් ඉල්ලීම් පවා ඉදිරිපත් වෙනවා. ඒවායින් සමහරක් බොහෝ කලක් තිස්සේ අතපසු කොට තිබූ ඉල්ලීම්. සමහර ඒවා අලුත් ම ඉල්ලීම්. මෙම ඉල්ලීම්වල අඩංගු සමහරක් කරුණු වුණේ:

- යුද කාලයේ මෙන්ම ඊට පසුවත් අතුරුදහන් වූ සහ ඝාතනය කළ අය වෙනුවෙන් සාධාරණය ඉටු කිරීම.
- දඬුවම් ලැබූ, නැත්තම් ප්‍රහාරයන්ට ලක් වූ එහෙමත් නැත්තම් ඝාතනයට ලක් වූ ක්‍රියාකාරීන් හා ජනමාධ්‍යවේදීන් වෙනුවෙන් යුක්තිය ඉටු කිරීම.
- අපරාධයකට හසු නොවී සිටියදී පවා පුද්ගලයන් දිගු කාලයක් සිරගත කිරීමට පොලීසියට ඉඩකඩ ලැබෙන "ත්‍රස්තවාදය වැළැක්වීමේ පනත" නම් නීතිය ඉවත් කිරීම.
- ආහාර ඉන්ධන සහ ජීවන වියදම දරාගත හැකි මට්ටමකට ගෙන ඒම.

ඔයාගේ දෙමවුපියන් වගේම අසල්වැසියන් කතාබහ කරන්නෙ මොනව ගැනද? ඉල්ලන්නේ මොනවද, කියල හිතල බලන්න.
ඔයාටත් මොනවහරි ඉල්ලීමක් කරන්න ඕනෙනම් ඒ මොනවගේ එකක් වෙයිද?



සහයෝගීතාව

# රැකවරණය සැලසීම

සහයෝගිතාවය කියන්නෙ එකිනෙකාට උපකාර කර ගැනීම වගේම රැකවරණය සැලසීම වෙනුවෙන් එකට එකතු වීම.

මීට කලින් මේ දේවල් මේ විදිහටම සිදුවුණේ නැහැ කියල අපි කලින් කිව්ව මතකද? අපි අතරින් කෙනෙක් වෙනස් විදිහේ සැලකීමට ලක්වෙනකොට අපි සමහරු ඒක නොසලකා හැරියේ කොහොමද කියල මතකද?

සමාව ඉල්ලන එක සහයෝගීතාවය පෙන්වීමේදී හරිම වැදගත් පියවරක්. අප අතින් සිදුවුණු වැරදිවලටත්, ඒවා වළක්වා ගැනීමට දායක නොවීම ගැනත් අපි සමාව ගත යුතුයි.

මේක ඒ තරම් ලේසි පහසු දෙයක් නෙවෙයි. ඒකට හේතුව අපි බොහෝ දෙනෙක් ඉන්නෙ මීට කලින් සිදුවුණු අපව නොසලකා හැරීම් නිසා ඇතිවුණු වේදනාකාරී හැඟීම් එක්ක.

පොඩ්ඩක් හිතන්නකො හැමදාම ඔයාට කවුරුහරි වද හිංසා කරනවා. ඒත් ඔයාගෙ යාළුවො ඒ ගැන මොකුත්ම කරන්නෙ නැහැ. ඔහොම ගිහින් දවසක් මේ කෙනා ඔයාගෙ යාළුවොන්ටත් හිංසා කරනවා. එතකොට ඒගොල්ලො වේදනාවට පත්වෙනවා. පුදුම වෙනව. එතකොට මේ සිද්ධිය ගැන ඔයාට මොන විදිහට දැනෙයිද?

අපි බොහෝ දෙනෙකුට මේ වෙනකොට තේරුම් ගිහින් තියනව තවත් කෙනෙකුට හිංසාවක් වෙනකොට නිශ්ශබ්දව ඉන්න එකෙන් වෙන්නෙ ප්‍රශ්න තවත් වැඩිවෙන එක කියලා.

මේ වැරදි වෙනුවෙන් සමාව අයද ඉන්න තත්ත්වයකට මිනිස්සු පත්වෙලා තියනවා. ඒ වගේම මිනිස්සු තමාට වැඩිය වෙනස් අයට සහයෝගය දක්වන්න පුරුදු වෙමින් ඉන්නවා.

මෙන්න මේ හේතුව නිසා අපේ අරගලය තවත් ශක්තිමත් වෙලා තියනවා. ඒකෙන් පෙන්නුම් කරන්නෙ අපේ රටට අවශ්‍ය වෙනස අපි කියන එකයි.



# මොනවද ඒගොල්ලො කරන්න හැදුවෙ?

බලය තියන අය පවතින ක්‍රමය වෙනස් වෙනවා දකින්න කැමති නැහැ.

ඒකට හේතුව ඒගොල්ලො ඒ අයට ඕනෙ විදිහට හැම දේම හදාගෙන තියන නිසා.

මිනිස්සු උද්ඝෝෂණය කරනකොට දේශපාලකයො හිනාවුණා. ඒගොල්ලො හිතුව අරගලය එහෙමම දියවෙලා යයි කියල. ඒත් අපි කළේ දිගටම උද්ඝෝෂණය කරපු එක.

බලය තියන අය එතකොට කළේ අරගලකරුවන්ට ගුටිබැට දීල ඒගොල්ලන්ව හිරේ දාන එක. ඒත් නීතිඥවරු ඒ අය වෙනුවෙන් පෙනී හිටිය.

ඊට පස්සෙ ඒගොල්ලො ඇඳිරි නීති දැම්ම. කිසිම කෙනෙකුට පාරට බහින්න එපා කිව්ව. ඒත් අපි පාරට බැස්සා.

ඊටත් පස්සෙ ඒගොල්ලො සමාජ මාධ්‍ය අවහිර කළා. ඒත් මිනිස්සු VPN තාක්ෂණය යොදාගෙන සමාජ මාධ්‍ය පාවිච්චි කළා.

බලයේ ඉන්න අය ඊට පස්සෙ කළේ දිග නිවාඩුවක් දීපු එක. ඒගොල්ලො හිතුව එතකොට අරගලකරුවෝ ගෙදර යයි කියල. ඒත් ඒගොල්ලො ඒ වෙනුවට කළේ ජනාධිපති ලේකම් කාර්යාලය ඉස්සරහ ගෝටාගෝගම හදල ඒකෙ වාඩිලාගෙන විරෝධතා කරපු එක.

ඊට පස්සෙ ඒගොල්ලොන්ගේ සුපුරුදු උපාය මාර්ගය යෙදුව. ඒ කියන්නෙ සිංහල මිනිස්සු අතරේ මුස්ලිම් සහ දෙමළ ජාතිකයන් ගැන වෛරයක් ඇති කරවන්න හදපු එක. ඒත් මෙදා සැරේ අපි ඒකට අහුවුණේ නැහැ.

විරෝධතාකරුවන් ගමන් කරපු මාර්ග අවහිර කරන්න ඒගොල්ලො උත්සාහ කළා. ඒත් විරෝධතා වලට වැඩිවැඩියෙන් සෙනඟ එකතු වුණා.

උද්ඝෝෂකයන්ට කඳුලු ගෑස් ප්‍රහාරයන්, ජල ප්‍රහාරයන් එල්ල වුණා. ඒ විතරක් නෙවෙයි වෙඩි කන්නත් වුණා.

දේශපාලකයො මොනව කළත් අවසානයේදී සිද්ධ වුණේ ජනතා අරගලය වඩ වඩාත් ප්‍රබල වුණ එක විතරයි.



# ප්‍රචණ්ඩත්වයේ ජයග්‍රහණයක් නැත

ජනතා අරගලය ප්‍රබල වෙද්දි බල ලෝභයෙන් මිරිකුණු දේශපාලකයෝ පෙරටත් වඩා අශෝභන දෙයක් කළා.

2022 මැයි 9 වෙනිද අගමැති මහින්ද රාජපක්ෂ මහතා එයාගෙ අධාරකරුවන් පුරවපු බස් රථ අරලිය ගහ මන්දිරයට (අගමැති නිල නිවස, කොළඹ) ගෙනාව. ඒ අය අතර හිටියෙ විරෝධතාකරුවන්ට පහර දීමට පොළඹවන ලද ප්‍රකෝපකාරි පිරිසක්.

මේ පිරිස මුලින්ම පහර දුන්නෙ අරලියගහ මන්දිරයෙන් එළියේ හිටපු විරෝධතාකරුවන් පිරිසකට. ඊට පස්සෙ මේ කළහකාරි පිරිස ගෝටාගෝගම පැත්තට ගමන් කළා. සාමකාමි විරෝධතාකරුවන්ව ආරක්ෂා කරන්න පොලිසිය ක්‍රියා කළේ නැහැ. ඒ වෙනුවට ඔවුන් කළේ මේ වියරු වැටුණු පිරිස ගෝටාගෝගම ඉදිකර තිබුණු කූඩාරම් විනාශ කරලා, ඒව ගිනිබත් කරල, අරගලකරුවන්ට පහර දෙනකල් ම ඒ දිහා බලා සිටීම පමණයි.

මෙම ප්‍රවෘත්තිය ප්‍රචාරය වෙනවත් එක්කම කොළඹ අවට හිටපු බොහෝ පිරිස් අරගලයට සහයෝගය දක්වන්න ආවා. ඒ අය හිටියෙ හරිම කේන්තියෙන්. සමහරු මොන තරම් ප්‍රචණ්ඩ වුණා ද කිව්වොත් ගෝඨාගෝගමට පහර දෙන්න ආ කලහකාරීන්ට ඇති තරම් ගුටි දුන්නා. ඒ අය කොළඹට ආපු බස් රථ ගිනි තිබ්බා. සමහර වාහන බේරේ වැවට තල්ලු කරා. තව ටිකක් රෑ වෙනකොට බලසම්පන්න ඇමතිවරුන්ගේ ගෙවල් ද ගිනිබත් කළා.

මේ වෙනකොට ජනතාව හෙම්බත් වෙලයි හිටියෙ.

සිදුවූ සියල්ල මොන තරම් නරක අතට හැරුණද කිව්වොත් මහින්ද රාජපක්ෂ මහතා අගමැති ධුරයෙන් එදාම ඉල්ලා අස් වුණා. ඒත් ගෝඨාභය රාජපක්ෂ මහතා ජනපති ධුරයෙන් ඉවත් වීම තවදුරටත් ප්‍රතික්ෂේප කළා.

සාමකාමී අරගලකරුවන් විසින් සෙසු අයට ප්‍රචණ්ඩකාරීව හැසිරීම නවත්තන්නයි ඉල්ලීමක් කළා. එසේම ඔවුන් සියලුදෙනා එක්වී ගෝඨගෝගම නැවත ගොඩ නැගුවා.

ප්‍රචණ්ඩත්වය කිසිවකට පිළිතුරක් වෙන්නෙ නැහැ.



සිතන්න

# සිහි බුද්ධියෙන් කටයුතු කිරීම

සිතා බැලීම අප යහපත් පුරවැසියන් බවට පත්කරනවා.

අපි යම්කිසි දෙයක් ගැන තීරණයකට එන්න කලින් ප්‍රශ්න අහන එක, මිනිස්සු එක්ක කතා කරන එක, විවිධ අදහස්වලට ඇහුම්කන් දෙන එක හරිම වැදගත්.

අනිත් හැම දෙනාම විරෝධතා දක්වන හින්දම ඔයත් විරෝධතාකරුවෙක් වෙන්න අවශ්‍ය නැහැ.

ඒ වගේම අනිත් කිසිම කෙනෙක් විරෝධතා වල යෙදෙන්නෙ නැහැ කියල ඔයා විරෝධතා නොදක්වා ඉන්න ඕනෙත් නැහැ.

ලෝකයේ ඉතා ප්‍රබල විරෝධතාවයන් සමහරක් පටන් අරගෙන තියෙන්නෙ එකම එක ළමයෙකුගෙන්. ඔයා අහල තියනවද ග්‍රේටා තන්බර්ග් (Greta Thunberg ) ගැන, එයා දේශගුණය සම්බන්ධයෙන් කරපු පාසැල් වර්ජනය ගැන අහල තියනවද? දේශගුණයෙ ඇතිවන වෙනසට විරුද්ධව එයා මෙම වර්ජනය ආරම්භ කළේ කොහොමද කියල ඔයා දන්නවද?

ක්‍රියාකාරී පුරවැසියෙක් වෙන්න ඕනෙ නම් ඔයා හිතන්න ඕනෙ ඔයාට වැදගත් වෙන්නෙ මොනවද කියල. ඒ වගේම වෙනසක් සඳහා ඔයාට කරන්න පුළුවන් දේ කරන්න ඕනෙ.

ඔයාට මෙන්න මෙහෙම ඔයාගෙන්ම ප්‍රශ්න කරන්න පුළුවන්:

- අපේ රටට සිදු වෙමින් තියන දේට මම කැමතිද?
- අපි වෙනස් කරන්න ඕනෙ මොනවද?
- නරක විදිහට සැලකුම් ලබපු අයට මට සහයෝගීතාව දක්වන්න පුළුවන් කොහොමද?
- මගේ මූලික පණිවිඩය මොකද්ද?
- ඒ පණිවිඩය මම ආරක්ෂා සහිතව බෙදාහරින්නේ කොහොමද?
- එක්ව විශාල හඬක් නඟන්න මම සම්බන්ධ කරගන්න ඕනෙ කාවද?

හොඳින් මතක තියාගන්න, විරෝධතා දක්වන්න කලින් අපිට ප්‍රශ්න වලට විසඳුම් තියෙන්න ඕනෙ නැහැ. නමුත් අපිට දිගින් දිගටම හිතමින් ඉන්න ඕනෙ මේ විසඳුම් මොන වගේ වෙන්න ඕනෙද කියල.



# සටන් කරන සොඳුරු මග

නිර්මාණශීලීත්වය කියන දේ සැම විටම විනෝදජනකයි. ආකර්ෂණීයයි.

ඔබ නිර්මාණශීල කෙනෙක් වුණාම ඔයාගෙ පණිවිඩය අනිත් අයත් එක්ක බෙදාගන්න ඔයාගෙ දක්ෂතා විතරක් නෙවෙයි ඔයාගෙ පරිකල්පන හැකියාවනුත් ඒ කියන්නෙ මොනවා හරි දෙයක් ගැන ඔයාගෙම සිතුවිලි යොදාගන්න පුළුවන්.

ඔයාට තවත් කෙනෙකුට දෙන්න ඕනෙ පණිවිඩය මොකද්ද කියල තීරණය කරාට පස්සෙ ඒක අනිත් අයත් එක්ක බෙදාගන්න පුළුවන් හොඳම විදිහ ගැන හිතා බලන්න ඕනෙ.

නිර්මාණශීලී කෙනෙක් වෙන්න ගොඩක් වටිනා දේවල් තියෙන්න ඕනෙ නැහැ. අඩුවෙන්ම දේවල් තිබුණ තරමට නිර්මාණශීලීත්වය වැඩි වෙනවා.

ජනතා අරගලය ඉතාමත් නිර්මාණශීලීයි. පෝස්ටර්, ගීත, මූර්ති, චිත්‍ර, ඇඳුම් ආයිත්තම්, හාස්‍යජනක වැකි, රූකඩ හා රඟ දැක්වීම් පුදුම සහගතයි.

අපි නිර්මාණශීලී වුණාම අපිට පුළුවන් මිනිස්සුන්ව සිනහගස්වන්න, දුකට පත් කරන්න. ඒ වගේම කේන්ති ගස්සන්න. නමුත් මේ සියල්ලටම වඩා වැදගත් දේ වෙන්නෙ අපි ඒගොල්ලන්ගේ අවධානය දිනා ගනිමින් ඒ අයට සිතා බලන්න දෙයක් ඉතුරු කිරීමයි.

අපි පෝස්ටරයක් අඳිමුද? ටිකක් හිතල බලන්න මොනවගේ දේවල්ද පාවිච්චි කරන්න පුළුවන් කියලා. ඔයාට කැමති දෙයක් අත්හදා බලන්න පුළුවන්. හදන්න. ඒකයි වැදගත්.

- හාස්‍යජනක (හිනා යන දේවල්)
- ශෝකය
- කෝපය
- බුද්ධිය

බලන්න මේවායින් ඔයා කැමති දෙකක් යොදාගෙන නිර්මාණශීලි දෙයක් කරන්න පුලුවන්ද කියල?

ලස්සන පාට පාට චිත්‍ර අඳින්න.

ලොකු දේවල් ඕනෙ නැහැ. හැබැයි දැකපු ගමන් හොඳට කෙනෙකුගෙ හිත ඇදිල යන විදිහට අඳින්න ඕනෙ!





# සින්දුවක් කියල නැටුමක් නටමු!

විරෝධතා දක්වන එක කම්මැලි හිතෙන දෙයක් වෙන්න ඕනෙ නැහැ.

මේ අපිට හරිම අමාරු කාලයක්. අපි වෙනසක් ගැන තදින් හිතන්න ඕනෙ. ඒ අතරේම අපිට විනෝදයෙන් ඉන්නත් පුළුවන්.

සමහරු කියනව අරගලකරුවෝ සින්දු කියන්න නටන්න විනෝද වෙන්න හොඳ නැහැ කියල.

ඒගොල්ලො වැරදියි.

අපේ සංස්කෘතිය ගීතවලින්, කලාවන්ගෙන් හරිම පොහොසත්. අපිට ගොඩක්ම අමාරු දේවල් වලට මූණ දෙන්න වුණාම අපි සින්දු කියනවා, නටනවා, දේවල් අනිත් අයත් එක්ක බෙදාගන්නවා. එහෙම කරනකොට අපේ බැඳීම් තව තවත් ශක්තිමත් වෙනවා. ඒ වගේම අපේ සහයෝගිතාව තව තවත් වැඩිවෙනවා.

හොඳම දේ තමයි අපි විනෝදයෙන් ඉන්නකොට අපිට පුලුවන්නම් බලයේ ඉන්න අයට හිනාවෙන්න. එතකොට අපට යොදන බලයෙ ශක්තිය නිකම්ම අඩුවෙලා යනවා.

අපි සමහර වෙලාවට දේශපාලකයො මෙහෙමයි කියල හිතෙන් මවාගන්නවා. අපි ඒගොල්ලන්ට බය වෙනවා, ඒගොල්ලො අපිට වැඩිය ඉහලින් ඉන්න, ශක්තියෙන් වැඩි, අපට වඩා හොඳ, බලයෙන් වැඩි පිරිසක් කියල හිතනවා. නමුත් එහෙම නැහැ.

අපි ඒ අයට හිනාවෙනකොට, අපිට තේරෙනව ඒගොල්ලො අපිට බයයි කියල.

අන්න ඒ නිසා තමයි මාර්ග බාධක දාගෙන ඒ අය ඒවා අස්සෙ හැංගිලා ඉන්නෙ. සොල්දාදුවො වටකරගෙන ඉන්නෙ. ඒ නිසා තමයි ඒගොල්ලො සුපුරුදු සෙල්ලම් දාල අපි එකිනෙකා අතරෙ තරහක් වෛරයක් ඇති කරන්න හදන්නෙ.

ඒ නිසා හොඳට මතක තියාගන්න. සතුටින් ඉන්න.

ඉතින් ඔයාට හිතෙන්නෙ නැද්ද සතුටින් නිදහසේ ඉන්න එක, කාටවත් බය නැතුව ඉන්න එක, තරම් ශක්තිමත් විරෝධතාවක් තවත් නැහැ කියල?



# අදහස් වපුරමු

අපේ අදහස් අපි බෙදා හදාගන්නා තරමට ඒවායේ තියන වටිනාකම වැඩිවෙනවා.

ඔයාට පුලුවන්ද ඔයාගෙ පණිවිඩය බෙදා හදාගන්න නිර්මාණශීලි ක්‍රමවේදයක් හොයන්න?

ඊට පස්සෙ ඔයාගේ දෙමවුපියන්ට හරි ඔයා දන්න වෙනත් වැඩිහිටියෙකුට හරි කියන්න පුළුවන් ආරක්ෂා සහිතව ඒක සමාජ මාධ්‍ය වල පල කරන්න කියලා. එහෙමත් නැත්තම් ඒ නිර්මාණ වල වැඩිපුර පිටපත් ප්‍රමාණයක් ගන්න කියලා.

තවත් සමහර පිරිසක් තමන්ගේ නිර්මාණ හෝ හැකියාවන් මේ විදිහට අනිත් අයත් සමඟ බෙදාගන්නවා. කතා පවත්වනවා, වැඩමුළු පවත්වනවා, නාට්‍ය කරනවා. මේ වගේ විවිධ දේවල් කරනවා.

ඔයාටත් ඒ අයගෙන් ඉගෙනගන්න පුළුවන්. ඒ අයත් එක්ක කතා කරන්න පුළුවන්. ගිහින් අහන්න ඇයි ඒගොල්ලො උද්ඝෝෂණය කරන්නෙ කියල. මොකද්ද ඒගොල්ලොන්ගේ මූලික ඉල්ලීම කියල අහල දැනගන්න. කා සමඟද සයෝගිතාවයෙන් වැඩ කරන්නෙ කියල අහන්න.

අලුත් දේවල් ඉගෙනගන්න, බෙදාහදාගන්න මේක අපට කදිම අවස්ථාවක්. ගුරුවරුන්ගෙන්, ඉස්කෝලෙ අච්චු පොත්වලින් ඉගෙනගන්නවා වගේ නෙවෙයි. ඔයගොල්ලෝ ඉගෙනගන්නේ විවිධ අත්දැකීම් තියන, නොයෙක් දේවල් ගැන දැනුමක් තියන, මුළු ලංකාව පුරාම පැතිරිලා අපේ ඉන්න අපේ මිනිස්සුන්ගෙන්.

මේක  ඉතිහාසයේ සුවිශේෂී අවස්ථාවක්. ඒක මොන විදිහට ඉවර වෙයිද කියන්න බැහැ. නමුත් අපි කරන සමහර දේවල් කරන විදිහ අනිවාර්යයෙන් මින් ඉදිරියට වෙනස් වෙයි.

මේ නිසා ඔයා කරන දේවල්, ඔයා දකින දේවල් වල වාර්තාවක් තියාගන්න. මේ විදිහට අපට පුළුවන් අපේ ඉතිහාසය ලියවෙන්නෙ මොන විදිහටද කියන එක වෙනුවෙන් යම් කිසි විදිහක දායකත්වයක් ලබලා දෙන්න.

ජනතා අරගලය ජනතාවගේ ඉතිහාසයක්.



# අඹ ගෙඩිය බෙදා ගෙන කන්න

විරෝධතා දැක්වීම අමාරු වැඩක්. ඒක බියකරු වෙන්න පුළුවන්. එක කොටසකට තවත් කොටසකට වඩා බියකරු වෙන්න පුළුවන්. ඔයාට දකින්න පුළුවන් වෙහෙසට පත්වුණු, බඩගින්නෙ ඉන්න විරෝධතාකරුවන්, ඒ වගේම යම් සහයෝගයක් අවශ්‍ය, දුකට පත්වුණු, කේන්තියෙන් ඉන්න විරෝධතාකරුවන්.

අපි එකිනෙකාට කරුණාවන්ත වීමෙන්, අපගේ සහයෝගීතාවය පෙන්වන්න පුළුවන්. අපේ ප්‍රජාව එයින් වඩාත් ශක්තිමත් වෙනවා. අපි කරුණාවෙන් කරන පුංචි දෙයක් වුණත් මහ මෙරක් වගේ දැනෙන්න පටන් ගන්නවා.

සමහර විට ඔයා වගේම තවත් දරුවෙක් එක්ක ඔයාගෙ කෑම වේල බෙදාගන්න එක, එහෙමත් නැත්තම් තව කෙනෙකුට ලස්සන හිනාවකින් සංග්‍රහ කරන එක, එහෙමත් නැත්තම් ඒගොල්ලො ඇඳපු පෝස්ටරයක් අගය කරන එක.

අපිට නොයෙක් විදිහට කරුණාව දක්වන්න පුළුවන්:

- තවත් කෙනෙක් අපහසුතාවයට පත්වෙලා ඉන්නවා දැක්කොත් ඒ අයට කාරුණික වෙන්න. උදව් කරන්න.
- මිනිස්සු වැඩියෙන්ම කළකිරීමට පත්වෙලා ඉන්න දේ වෙනුවෙන් විරෝධතා දක්වන්න ඒගොල්ලොන්ට උදවු කරන්න. අපි හැමෝම හැමෝටම ඉන්නවා කියන හැඟීම වගේම, අපි හැමදෙනාටම වටිනාකමක් තියන බව අපිට දැනෙන්න ඕනෙ.
- හොඳින් මතක තියාගන්න සමහර පුද්ගලයන්ට විරෝධතා දැක්වීම බිය ගෙන දෙයක් වෙන්න පුළුවන්. එහෙමත් නැත්තම් අපහසු දෙයක් වෙන්න පුළුවන්. ඒ නිසා හැම වෙලාවකම ඒගොල්ලන්වත් සම්බන්ධ කරගන්න අමතක කරන්න එපා.

අප එකිනෙකාට කරුණාවන්ත වෙන්නෙ නැත්තම් වෙන කවුද එහෙම වෙන්නෙ?





# අපව ආරක්ෂා කරගැනීම

ඔයා එළිමහන් තැනකදී විරෝධතා දක්වනවා නම් ආරක්ෂා සහිතව ඒක කරන්නේ කොහොමද කියල දැනගන්න ඕනෙ.

විරෝධතා සෑම විටම මිනිස්සුන්ගෙන් පිරුණු ජනාකීර්ණ ස්ථානයක් . හැම වෙලාවකම වැඩිහිටියෙක් එක්ක ඉන්න අමතක කරන්න එපා. මිනිස්සු පිරුණු තැනකදී අත අල්ලාගෙන ඉන්න ඕනෙ. බැරිවෙලාවත් ඔයාව තනි වුණොත් මොනවද කරන්නෙ කියල කලින් සැලසුම් කරගන්න. උදාහරණයක් විදිහට ඔබට ගෝටාගෝගමදි ඒවගේ ඇබැද්දියක් වුණොත් එතන තියන පුස්තකාලයට එහෙමත් නැත්නම් රතු කුරුස කූඩාරමට යන්න පුළුවන්.

සමහර වෙලාවට විරෝධතාවක් භයානක වෙන්න පුළුවන්. ඒ වගේ වෙලාවට ළමයි ඒ තැන්වල ඉන්න එක සුදුසු නැහැ.

අපේ විරෝධාකරුවන් නිතරම හැසිරිලා තියෙන්නෙ සාමකාමිවයි. නමුත් හමුදාව හෝ පොලීසිය විසින් ඒ අයට කඳුළු ගෑස් හෝ ජල ප්‍රහාර එල්ල කරන්න ඉඩ තියනවා. විරෝධතාකරුවන්ට පහරදෙන්න ඉඩ තියනවා. ඒ වගේ දෙයක් වෙන්න ඉඩකඩ තියනවා කියල දැනුනොත් වහාම එතනින් ඉවත් වෙන්න ඕනෙ.

ඔයාට ඒ ගැන හිතන්න අවස්ථාවක් නැතුව හදිසියේම එහෙම වුණොත්, ඔයා ඔයාගෙ වැඩිහිටියොත් එක්කම ඉක්මනින්ම එතනින් ඉවත් වෙන්න ඕනෙ. විරෝධතාවල යෙදිල ඉන්න අයම ඔයාට ඒ වෙනුවෙන් උදවු කරයි. එහෙම කරන්නෙ ඒ අයට ඔයාව වටින හින්දා.

මාර්ගගත (ඔන් ලයින්) ක්‍රමය ඔස්සේ අන්තර්ජාලයට එකතු වෙනකොටත් ඔයා බොහොම ප්‍රවේසම් වෙන්න ඕනෙ. ඔයාගෙ රූපය තියන පින්තූර සමාජ මාධ්‍යයට මුදා හරින්න ඔයාගෙ වැඩිහිටියෝ කැමති වෙන එකක් නැහැ. නමුත් ඔයාගෙ පණිවිඩය ඔයාගෙ නිර්මාණයේ පිංතූරයක් එක්ක සමාජ මාධ්‍යට එකතු කරන්න පුළුවන්.

ආරක්ෂාව සම්බන්ධ ඕනෑම අවස්ථාවකදී හැමවෙලාවකම ඔයාගේ වැඩිහිටියන්ට ඇහුම්කන් දෙන්න. ඒ වගේම නිතරම තමන් ගැන හිතන්න. ඔයා අපහසුතාවයට පත්වෙන විදිහේ කිසිම දෙයක් කරන්න එපා.



# සුභ ගමන්!

අපි එකතුවෙලා මොනතරම් වටිනා කාලයක් ගත කළා ද?

ඔයාට මේ වෙනකොට අලුත්ම ප්‍රශ්න ගණනාවක් ඇති. සමහර විට වෙනත් පත පොත කියවීමෙන් වගේම මිනිස්සුත් එක්ක කතාබහ කරල එවාට පිළිතුරු හොයාගන්න පුළුවන් වෙයි.

සිද්ධවන දේ ගැන ඔයාට සමහරවිට දුකක් වේදනාවක්, එහෙමත් නැත්තම් කේන්තියක් දැනෙනව ඇති. අයහපත් පාලකයන්, ඒ වගේම බලය තියන සුළු පිරිසක් කරන මේ දූෂණය නිසා අපි වේදනා විදින එක අපට දරාගන්න අපහසුයි. ඒක හරිම අසාධාරණයි.

ඔයාට මේ වගේ හැඟීමක් දැනෙනවානම් ඔයාට හිතවත්, ඔයා ආදරය කරන කාත් එක්ක හරි මේ ගැන කතා කරන්න. අපේ හිතට එන හැඟීම් ගැන කතා කරන එක හරිම වැදගත්.

ලංකාව මූණ දෙන ගැටළු එකකටවත් ඔයාවත් අනිත් දරුවන්වත් වග කියන්න ඕනෙ නැහැ. ඒ නිසා ඔයාට වේදනාවට පත්වෙන්න සිදුවීම ඉතාම අසාධාරණයි.

ජනතා අරගලය ඇතුලෙ අපි හැමෝම එකතුවෙලා උත්සාහ කරන්නේ මේ යහපත ඇති කරන්නයි. රටක් විදිහට අපි කරන දේවල්වල වෙනසක් ඇති කරන්නයි.

ජනතා අරගලයට උදවු කරන්න ඔයාට අවශ්‍ය නම් ඒ දේ කරන්න පුළුවන් නොයෙක් විදිහවල් තියනව. හොඳින් හිතල බලල වඩාත්ම සුරක්ෂිත, යහපත්ම, වඩාත්ම නිර්මාණශීලි ක්‍රමය තෝරාගන්න.

මට ඔබව මුණගැහුණ වගේම ඔබට මාව මුණගැහීමත් සතුටක් වුණා කියල මම හිතනවා. මාව කරුණාකරලා ඔයාගෙ යාළුවන්ගේ අතටත් පත් කරන්න. එතකොට මට ඒ අයත් එක්කත් යාලු වෙන්න පුළුවන්. ඔයා කැමතියි නම් ඔයාගෙ වැඩිහිටි අයට කියන්න මගේ පිටපත් කීපයක් ඔයාගෙ යාලුවොන්ට බෙදල දෙන්න කියලා.

අන්තිම සිතුවිල්ලකින් මට ඔයාගෙන් වෙන් වෙන්න අවසර දෙන්න. අපි කතා කළා අපට සහ අපේ රට විනාශ කරපු බලසම්පන්න පුද්ගලයෝ ගැන. ඒත් අපි හැමෝම එකතු වුණහම ඒ හැමෝටම වැඩිය අපි බලගතුයි. අන්න ඒකයි ජනතා අරගලය කියන එක වැදගත් වෙන්නෙ.

අපි එකට එකතු වුණොත් අපේ රට වඩා ආරක්ෂාකාරී, කාරුණික, සාධාරණ, වඩාත් සතුටින් ඉන්න පුළුවන්, හැමෝටම සමානව සලකන තැනක් බවට පත් කරගන්න පුළුවන්.

අපි එකතු වුණොත් කරන්න බැරි දෙයක් නැහැ.





# රූප උකහාගැනීම්

මෙහි සඳහන් නොවන සියලුම රූප නිර්මාණකරුට අයිතිය.

**Arm**
Kitāb-I ‘ajā’ib-I Makhlūqāt. Iṣfahān, 1921.
Princeton University Library. No known
restrictions. https://publicdomainreview.
org/collection/persian-demons-from-a-
book-of-magic-and-astrology-1921

**Backgrounds**
Pechuël-Loesche, Eduard: Kießling, Johannes:
Untersuchungen über Dämmerungserscheinun-
gen: zur Erklärung der nach dem Krakatau-Aus-
bruch beobachteten atmosphärisch-optischen
Störung. Hamburg und Leipzig: Verlag von
Leopold Voss, 1888. ETH-Bibliothek Zürich,
Rar 29145, https://www.e-rara.ch/zut/
doi/10.3931/e-rara-56381 / Public Domain Mark.

**Barrel: blue**
https://search.openverse.engineering/im-
age/79b2d14a-398c-470c-a060-23247af8a5d3
"A crime scene" by Markus Spiske
is marked with CC0 1.0.

**Barricades**
https://www.flickr.com/photos/
vikalpasl/11834870393/
Vikalpa | Groundviews | Maatram | CPA.
Attribution 2.0 Generic (CC BY 2.0).

**Black trousers**
https://publicdomainreview.org/collection/
hand-coloured-photographs-of-19th-century-japan
PD Worldwide.

**Brain cells**
https://wellcomecollection.org/works/
u2mrc7w5/images?id=v5g4a247
Licence: Attribution 4.0 International (CC BY
4.0) Credit: Neuronal migration is an artwork
depicting many very young neurons that
have been produced in the neuroepithelium
migrating to their appropriate destinations
in the brain. This image highlights the future
of neuroscience showing different classes
of cells colour coded. There is no available
technique to do this now, but it is not far off
considering the advances that have been made
with brainbow mice. The brainbow technique
allows for different cell types to be tagged with
fluorescent proteins to track their development
and connections with other cells. Prof. Bill Harris.

**Broom**
https://commons.wikimedia.org/
wiki/File:Broomstick.jpg
சஞ்சீவி சிவகுமார், CC BY-SA 4.0
<https://creativecommons.org/licenses/
by-sa/4.0>, via Wikimedia Commons.

**Buddhism: Dharmachakraya**
https://www.cbsl.gov.lk/en/notes-coins/notes-
and-coins/commemorative-coins-and-notes

**Cloud poison**
https://search.openverse.engineering/im-
age/4d88f99f-7075-4319-818e-2655ee2d41e5
"Toxic Cloud" by pasukaru76 is
marked with CC0 1.0.

**Compass**
https://digitalcollections.nypl.org/items/510d-
47da-d088-a3d9-e040-e00a18064a99
NYPL catalog ID (B-number): b15262620 Universal
Unique Identifier (UUID): e06fecb0-c53c-012f-
a0a4-58d385a7bc34. The copyright and related
rights status of this item has been reviewed
by The New York Public Library, but we were
unable to make a conclusive determination
as to the copyright status of the item. You
are free to use this Item in any way that
is permitted by the copyright and related
rights legislation that applies to your use.

**COVID–19**
https://www.cdc.gov/media/subtopic/images.htm
Alissa Eckert, MSMI, Dan Higgins, MAMS.
This image is in the public domain and
thus free of any copyright restrictions.

**Cricket bat**
https://commons.wikimedia.org/wiki/
File:CricketBat_MetreStick.jpg
Martinvl, CC BY-SA 4.0 <https://creativecommons.
org/licenses/by-sa/4.0>, via Wikimedia Commons.

**Cross**
https://en.wikipedia.org/wiki/File:-
Golden_Christian_Cross.svg
Skriplerio, CC0, via Wikimedia Commons.

**Crow body (purple shirt)**
https://wellcomecollection.org/works/vexvy3g3
Credit: A physician wearing a 17th
century plague preventive. Wellcome
Collection. Public Domain Mark.

**Crow photo**
https://search.openverse.engineering/im-
age/74e70a7a-a42c-44b0-b908-3d4f8c9b1b06
"Torresian Crow" by magdalena_b is marked
with CC0 1.0. https://creativecommons.org/
publicdomain/zero/1.0/?ref=openverse.

**Doctor’s coat**
Cropped from: https://wellcomecollection.
org/works/u32rn9an/images?id=q44d9eue
Credit: A doctor bandaging a man's arm.
Colour lithograph after Surow, 1929.
Wellcome Collection. In copyright.

**Engine**
https://commons.wikimedia.org/wiki/
File:Blumfield_V-twin_motorcycle_engine.jpg
Rankin Kennedy C.E., Public do-
main, via Wikimedia Commons.

**Film projector**
https://commons.wikimedia.org/
wiki/File:8mm-projector_hg.jpg
Hannes Grobe 20:34, 5 May 2012 (UTC),
CC BY 3.0 <https://creativecommons.org/
licenses/by/3.0>, via Wikimedia Commons

**Fire**
https://publicdomainreview.org/collection/
elements-and-temperaments-maerten-de-vos
PD Worldwide.

**Galle Face Green**
https://digitalcollections.nypl.org/items/
c2624937-b3e1-2318-e040-e00a18067b59
From The New York Public Library.

**Gas cylinder**
https://commons.wikimedia.org/
wiki/File:Naturalgastank.jpg
Annoyclime, CC BY-SA 3.0 <https://
creativecommons.org/licenses/by-
sa/3.0>, via Wikimedia Commons.

**Gold bars**
https://search.openverse.engineering/im-
age/38ff2ee9-1d42-41b6-b032-2d146cc8feb1
"File:Gold bullion bars.jpg" by Steve-
bidmead is marked with CC0 1.0.

**Graduation: hat**
https://search.openverse.engineering/image/
240c597a-b1cf-4db6-82df-e0086a668d03
"File:Graduation-1449488 1920.jpg" by
Wokandapix is marked with CC0 1.0.

**Grey roof house**
https://www.flickr.com/photos/vikalpasl/
albums/with/72157658201060324.
Vikalpa | Groundviews | Maatram | CPA.
Attribution 2.0 Generic (CC BY 2.0).

**Haekel**
https://publicdomainreview.org/essay/
human-forms-in-nature-ernst-haeckel-s-
trip-to-south-asia-and-its-aftermath
This file has been identified as being free
of known restrictions under copyright
law, including all related and neighbor-
ing rights. https://creativecommons.org/
publicdomain/mark/1.0/deed.en

**Hose**
https://search.openverse.engineering/image/
ff5cb629-055b-47c0-a1b9-4e211b7b4719
"Candy Hoses" by cogdogblog
is marked with CC0 1.0.

**Hospital bed**
https://search.openverse.engineering/im-
age/1acfb029-ab32-4692-85be-ef192785c395
"File:Hospital Bed 2011.JPG" by Blogo-
tron is marked with CC0 1.0.

**Humanism**
https://en.wikipedia.org/wiki/Happy_Hu-
man#/media/File:Happyman.svg
This file is licensed under the Creative Commons
Attribution-Share Alike 3.0 Unported license.

**Independence Square**
https://commons.wikimedia.org/wiki/
File:Independence_sq_CMB_2014.jpeg. Nigel
Swales from Birmingham, UK, CC BY-SA 2.0
<https://creativecommons.org/licenses/
by-sa/2.0>, via Wikimedia Commons.

**Inflatable toy**
https://commons.wikimedia.org/wiki/
File:Inflatable_animal_air_chair-2-xavi-
er_cottage-yercaud-salem-India.jpg. This file
is licensed under the Creative Commons
Attribution-Share Alike 4.0 International license.

**Islam: crescent and star**
https://commons.wikimedia.org/
wiki/File:Star_and_Crescent.svg
Kbolino at en.wikipedia.org, Public
domain, via Wikimedia Commons.

**Leaf with white flower**
https://www.flickr.com/photos/
biodivlibrary/6430631879/
Credit - Image courtesy of BHL. Source
- http://biodiversitylibrary.org. Copy-
right Notice - Public Domain.

**Legs**
https://wellcomecollection.org/works/
ykajndh9/images?id=bwav264j
Licence: Public Domain Mark Credit: A man
carrying a wooden pole (yoke) with pots
suspended on either ends. Gouache painting
by an Indian artist. Wellcome Collection.



**Lightbulb**
https://commons.wikimedia.org/wiki/
File:Compact_fluorescent_lamp.jpg
Levente Fulop from Brno, Czech Republic,
CC BY 2.0 <https://creativecommons.org/
licenses/by/2.0>, via Wikimedia Commons.

**Lotus**
https://www.flickr.com/photos/
biodivlibrary/50037182371/
Rights - Public Domain. Credit -
Image courtesy of BHL.

**Mango**
https://search.openverse.engineering/image/
c5350b6a-3267-4612-bce2-c1ba1a9b66aa
"Mangoes (Mangifera Indica) (1908) by Amanda
Almira Newton. Original from U.S. Department
of Agriculture Pomological Watercolor Collec-
tion. Rare and Special Collections, National
Agricultural Library. Digitally enhanced.

**Megaphone**
https://www.publicdomainpic-
tures.net/en/view-image.php?im-
age=177725&picture=megaphone
License: CC0 Public Domain. George Hodan.

**Microphone**
https://search.openverse.engineering/im-
age/389b1281-ff84-4e18-a74d-f8852a5a9566
"2006_08_20_PNE 015" by Dennis S.
Hurd is marked with CC0 1.0.

**Paintbrush**
https://commons.wikimedia.org/
wiki/File:Roze_kwast.JPG
Gvstellingwerf, CC BY-SA 3.0 <https://
creativecommons.org/licenses/by-
sa/3.0>, via Wikimedia Commons.

**Petrol can: blue**
https://www.pngwing.com/en/free-png-ylllw
Non-commercial use.

**Petrol can: yellow**
https://www.pngwing.com/en/free-png-zhpap
Non-commercial use.

**Phone camera**
https://search.openverse.engineering/image/
af898862-2af6-4f39-a063-dd306b3843c8
"iphone camera in chinese selfie stick-france2015-
em10=70-300mm-20150717-P7170400.
jpg" by roland is marked with CC0 1.0.

**Pile of books**
https://search.openverse.engineering/im-
age/3ec465fb-9bc7-4466-9d17-c2413298f39d
"Spring daffodils and books" by free-
stocks.org is marked with CC0 1.0.

**Pineapple**
https://www.flickr.com/photos/
biodivlibrary/50803868051/
Rights - Public Domain. Cred-
it - Image courtesy of BHL.

**Pink house**
https://www.flickr.com/photos/
vikalpasl/15090843419/in/al-
bum-72157647339336378/
Vikalpa | Groundviews | Maatram | CPA.
Attribution 2.0 Generic (CC BY 2.0).

**Pipes**
https://search.openverse.engineering/im-
age/38c0fe0b-d269-4f8d-8be0-b404fbc8e9ab
"The Fairy Tale of the Three Pipes" by
cogdogblog is marked with CC0 1.0.

**Plastic bucket: blue**
https://commons.wikimedia.org/wiki/File:%E6%B-
F%80%E5%AE%89%E3%82%B3%E3%83%B-
C%E3%83%8A%E3%83%BC_(2878033473).jpg
nakimusi, CC BY 2.0 <https://creativecommons.
org/licenses/by/2.0>, via Wikimedia Commons.

**Plate**
https://search.openverse.engineering/image/
ad1aef23-06e9-4487-b1be-bff06fcf1492
"Saucer with the arms of the Certon
family, anonymous, c. 1768 - c. 1770" by
anonymous is marked with CC0 1.0.

**Prosthetic arm**
https://wellcomecollection.org/works/
jehkzmhx/images?id=gvb6zcc2
Licence: Attribution 4.0 Internation-
al (CC BY 4.0) Credit: Artificial left arm
and hand. Science Museum, London.

**Sarong fabric**
https://search.openverse.engineering/im-
age/93038029-f0a5-42ee-a575-dde02b1fd6ad
"Panel" is marked with CC0 1.0.

**Sewing machine**
https://commons.wikimedia.org/wiki/
File:Nma.img-ci20082088-608-ei-vs1.jpg
National Museum of Australia, CC BY 3.0 AU
<https://creativecommons.org/licenses/by/3.0/
au/deed.en>, via Wikimedia Commons.

**Singapore: One Raffles Place**
https://commons.wikimedia.org/
wiki/File:Singapore_skyline.JPG
Terence Ong, CC BY-SA 3.0 <http://
creativecommons.org/licenses/by-
sa/3.0/>, via Wikimedia Commons.

**SL coast with trees**
https://digitalcollections.nypl.org/items/
c263504a-1973-b3d1-e040-e00a18061791
Universal Unique Identifier (UUID): d113a720-
c5d2-012f-46b1-58d385a7bc34. The copyright
and related rights status of this item has
been reviewed by The New York Public Library,
but we were unable to make a conclusive
determination as to the copyright status of the
item. You are free to use this Item in any way
that is permitted by the copyright and related
rights legislation that applies to your use.

**SL map** (not the weird, sideways one)
https://upload.wikimedia.org/
wikipedia/commons/5/57/Sri_Lank-
an_Provinces_and_districts.PNG

**SL map** (the weird, sideways one)
Deshan made this with the invalu-
able help of Dr. Andrew Kittle.

**Solar panels**
https://commons.wikimedia.org/wiki/
File:Photovoltaic_arrays_at_the_Israe-
li_National_Solar_Energy_Center.jpg
David Shankbone, CC BY 3.0 <https://
creativecommons.org/licenses/
by/3.0>, via Wikimedia Commons.

**Tambourine**
https://commons.wikimedia.org/wiki/File:Bay-
ouSS07YellowtribeTwogirlsTambourine.jpg
Infrogmation, New Orleans, CC BY 2.5
<https://creativecommons.org/licenses/
by/2.5>, via Wikimedia Commons.

**Tamil Om: Hinduism**
https://commons.wikimedia.org/
wiki/File:Om-tamil.png
Anton 17, CC BY-SA 3.0 <https://creativecommons.
org/licenses/by-sa/3.0>, via Wikimedia Commons.

**Tank**
https://digitalcollections.nypl.org/items/510d-
47da-d60e-a3d9-e040-e00a18064a99
The copyright and related rights status of this
item has been reviewed by The New York Public
Library, but we were unable to make a conclusive
determination as to the copyright status of the
item. You are free to use this Item in any way
that is permitted by the copyright and related
rights legislation that applies to your use.

**Tardis**
https://search.openverse.engineering/image/
ce6732b5-cfcb-4cb0-8e23-d610b98997fd
"The TARDIS from Doctor Who, at Raglan Castle"
by ThatRobClarke is licensed under CC BY 2.0.

**Toys**
https://commons.wikimedia.org/wiki/File:Toy_
Stall_-_Durga_Puja_Festival_-_Park_Circus_Be-
niapukur_-_Kolkata_2014-10-02_8842.JPG
Biswarup Ganguly, CC BY 3.0 <https://
creativecommons.org/licenses/
by/3.0>, via Wikimedia Commons.

**Trishaw**
https://commons.wikimedia.org/wiki/
File:Bajaj_RE_4S_CNG_-_Three-wheel-
er_-_New_Delhi_2014-05-06_0889.JPG
Biswarup Ganguly, CC BY 3.0 <https://
creativecommons.org/licenses/
by/3.0>, via Wikimedia Commons.

**Video camera**
https://search.openverse.engineering/im-
age/9a3d0f98-a021-40ad-beac-2bcbdb2275ff
"Video Camera Photo" by Jakob Ow-
ens is marked with CC0 1.0.

**White-throated kingfisher** (this is the image
Linnaeus used to classify the species!)
https://www.flickr.com/photos/
biodivlibrary/9492986339/
Credit - Image courtesy of BHL.
Rights - Public Domain.

**White-throated kingfisher skull**
Cropped from: https://skullsite.com/skullpage/
halcyon-smyrnensis-white-throated-kingfisher/

**Wig**
https://en.wikipedia.org/wiki/File:Scot-
tish_Court_wigs_(2013).JPG
Kim Traynor. This file is licensed un-
der the Creative Commons Attribu-
tion-Share Alike 3.0 Unported license.

**Yellow house**
https://www.flickr.com/photos/vi-
kalpasl/22576131876/in/dateposted/
Vikalpa | Groundviews | Maatram | CPA.
Attribution 2.0 Generic (CC BY 2.0).

# ස්තූතිය


අන්කල්,
කොහොමද?
පිටු 32 ක ළමා පොතක සම කර්තෘ
වෙන්න කැමතියිද? මට ඕනෙ අරගලය
ගැන ළමයින්ට කියන්න...
මේක හරි ඉක්මනටම සිද්ධ වෙන්න ඕනෙ. මම චිත්‍ර
ගැන බලාගන්නම්. ඒක ටිකක් අමුතු දෙයක් වෙයි...
දේශ්

මේ ඊ මේල් එකෙන් පස්සෙ 2022 අප්‍රේල් 18 අපි එකතුවෙලා මේ පොත කරන්න පටන් ගත්තා. සති හතකට පස්සෙ අපි හොඳටම හෙම්බත් වෙලා, ඒත් ඔබත් එක්ක ඒ පොත බෙදාගන්නේ හරිම සතුටින්. ඔබට පේනවා වගේම, මේක දේශාන්ගේ පිටු 32 වැඩේට වඩා ලොකු දෙයක් බවට පත් වුණා. ඔබට නොපෙනෙන දේ තමයි, මේ අභූත අදහස යථාර්ථයක් බවට පත් කරන්න කරුණාබර, ත්‍යාගශීලි මෙන්ම ප්‍රවීණ මිනිසුන් කිහිප දෙනෙකු ලබා දි ඇති දායකත්වය.

විශේෂ ස්තුතිය:

මෙම පොතෙහි වටිනාකම හඳුනාගෙන එය විමර්ශනය කර වැඩි දියුණු කිරීමට උපකාර කිරීම වෙනුවෙන් අම්බිකා සත්කුනනාදන්, හෙලානි ගල්පාය,පියුමි සමරවීර,සකුන්තලා කදිර්ගාමර්, ශමාරා වෙත්තිමුනි, ෂෙහාන් කරුණාතිලක හා ට්‍රේසි හොල්සින්ගර්.

එයට අත්‍යවශ්‍යව තිබූ සංස්කරණය සඳහා කාලය කැපකිරීම වෙනුවෙන් රුවන්ති ද චිකේරා.

පරිවර්තනය මුද්‍රණය සහ එය බෙදා හැරීම සඳහා දැක්වූ මූල්‍ය අනුග්‍රහය වෙනුවෙන් නීලන් තිරුචෙල්වම් භාරය.

පරිවර්තක කණ්ඩායම. දමිළ පරිවර්තනය වෙනුවෙන් කින්ග් රත්නම්, ප්‍රියදර්ශනී සිවරාජා හා සත්‍යප්‍රියා රත්නසාමි; සිංහල පරිවර්තනය වෙනුවෙන් කල්පනා පුරසිංහ, ජිනාන්දනී පරමේශ්වරම් හා හිමන්සි දෙහිගම.

මූල්‍ය අනුග්‍රහය සඳහා ඉල්ලීම් කිරීම, ලැබුණු ප්‍රදානය අප වෙනුවෙන් පරිපාලනය කිරීම සහ අවශ්‍ය පාඨක ජාලය වෙත පොත ලබා දීමේදි දැක්වූ සහයෝගය වෙනුවෙන් නීතිය හා සාමය භාරකාරිත්වයේ සාමාජිකයන්. මෙහිදී සකුන්තලා කදිර්ගාමර් හා හසාරා ෆනැන්ඩො විශේෂයෙන් සිහිපත් කරමු.

පොත එළිදැක්වීමේ කටයුතු බාරගැනීම හා දිවයින පුරා දරුවන් සමඟ වැඩමුළු පැවැත්වීම වෙනුවෙන් Stages Theatre වේදිකා නාට්‍ය කණ්ඩායමේ මිතුරන් රුවන්ති ද චිකේරා, පියුමි විජේසුන්දර, වීණාධරි ලක්ෂිකා ජයකොඩි, ශස්නා සුහයිල් හා මහේෂ් ලක්මාල් විශේෂයෙන් සිහිපත් කර සිටිමු.

ඔබගේ නිර්මාණයන් සහ උත්සාහයන් වෙනුවෙන් 2022 අප්‍රේල් මස කොළඹදී පැවති කලාකරුවන්ගේ විරෝධතාවයට සහභාගී වූ කලාකරුවන් (අපගේ විශාල කපුටු රූකඩය ඔබගේ නිර්මාණයේ පෙළඹවීමෙන් සිදුකරන ලදී).

ගෝටාගෝගම පුස්තකාලයේදී, රට වටා තිබූ ගෝටාගෝගම්වලදී අනෙකුත් ස්ථානවලදී හා මාර්ගගත ක්‍රමය ඔස්සේ දැනුම බෙදාගත් ඔබ සැමට.

දේශාන්ගේ ආගමික ලාංඡන සම්බන්ධ ගැටළුවේදී 24-05-22 දින, ට්විටර් ඔස්සේ සම්බන්ධ වූ පිරිසට. එම සාකච්ඡාවන්හි අගය මිල කළ නොහැකිය.

පොතෙහි අඩංගු සිත්තම් සම්බන්ධයෙන් ප්‍රතිචාර ලබා දුන්, පෙළ සංස්කරණය කළ,රූප සඳහා පරිවර්තන ලබා දුන් සැමට. අන්ද්‍රේ හෝසන්, කෙනොලි රණතුංග, කින්ග් රත්නම්, කිත්මි රණතුංග, ලෝරා වැන් වාස්, නිරාන් ඇන්කිටෙල් හා සොහානි තෙන්නකෝන්. අපගේ අඩුපාඩු මගහැර යහපත් කෘතියක් රචනයට ඔබ සැමගෙන් ලැබුණු පිටුවහල ඉතා අගය කොට සලකමු.

අන්තර්ජාල ලේඛනාගාරයට, Stages Theatre Group සහ Mind Adventures Theatre Co. මාර්ගගත ක්‍රමය ඔස්සේ පොත සැපයීම සඳහා දැක්වූ නොමඳ සහය වෙනුවෙන්.

අප පවුල්වල සැමට. ට්‍රේසි සහ පියුමි - අපගේ හවුල්කරුවන්ට. මේ ව්‍යාපෘතියේ ගැඹුරට ගමන් කිරීමේදී නිරන්තරයෙන් ඔබ අප වෙත දැක්වූ සහයෝගය සහ ආදරය වෙනුවෙන්. නේහා සහ කාවන්, කමිල් සහ අයානා යන අපගේ දරුවන්ට, ඔබගේ වටිනා අදහස් වෙනුවෙන්.

ඔබ සියල්ලන්ගේ ජීවිත මී අඹ මෙන් රසින් පිරී ඉතිරේවා! ඔබගේ කොසුවලින් අතුගෑමටත්, ඉහල අහසේ නිදහසේ සැරි සැරීමටත් හැකිවේවා! ඔබගේ විරෝධතා පාඨ සුපිරි බලයෙන් සහ හාස්‍යයෙන් පිරී යත්වා!




## නිර්මාණකරුවන් ගැන බිඳක්


මේ පොත රචනා කළ අමල්, දේශාන් තෙන්නකෝන් හඳුන්වන්නේ, විවිධ දස්කම් දැක්විය හැකි කැමරාවක් අතැති, දුර්වල වූ කොන්දක් සහිත ගඳ ගසන හාදයෙක් ලෙසයි. ඔබට දේශාන්ව www.onlinedesho.com සහ @deshan10 ට්විටර් ඔස්සේ මුණගැසිය හැක.

මේ කෘතිය සැලසුම් කොට චිත්‍ර වලින් දායක වී ඇති දේශාන්, අමල් ද චිකේරා විසින් ඔහු පිළිබඳ සඳහන් කොට තිබූ රසවත් දේ සියල්ල මකා දැමුවේය. ඔබට www.institutesi.org/about-us සහ @Amal_deC ට්විටර් ඔස්සේ අමල්ව මුණගැසිය හැක.





**මේ අපූරු කෘතිය ඉතා සංකීර්ණ එසේම වැදගත් සංසිද්ධියක් දරුවන්ට උකහා ගැනීමට පහසු ආකාරයට වඩා සමීපව සන්නිවේදනය කරයි.**

— ශමාරා වෙත්තිමුනි
ඉතිහාසඥ

## ආයුබෝවන්!



මම ඔබ වගේ දරුවන් වෙනුවෙන් ලියවුණු පොතක්. ශ්‍රී ලංකාවේ සිද්ධ වෙන්නෙ මොකද්ද, වඩාත් සුරක්ෂිත විදිහට ජනතා අරගලයට ඔයාට එකතු වෙන්න පුළුවන් කොහොමද කියන එක ගැන අපි කතා කරමු. අපි ලංකාවෙ අතීතය, අපි එකිනෙකාට සලකල තියෙන්නෙ කොහොමද, කියන එක ගැන කතා කරමු. ඒ විතරක්ද? ඇයි අපේ අනාගතය? අපි කොහොමද ක්‍රියාකාරී පුරවැසියන් විදිහට වඩා සුරක්ෂිත, සාධාරණ, ලස්සන රටක් අපි වෙනුවෙන් ගොඩනගාගන්නෙ?



**‘කපුටු’ කියන්නෙ වැදගත් අදහස් වලින් පිරුණු වටිනා කෘතියකි. ශක්තිසම්පන්න, කාරුණික, නිර්මාණශීලි මෙන්ම සෞභාග්‍යමත් දේශයක් බවට පත්වීම සඳහා මේ මොහොතේ ශ්‍රී ලංකාවට දැඩි ලෙස අවශ්‍යව ඇති අදහස් වලින් මෙය පෝෂණය වී ඇත.**

— -ෂෙහාන් කරුණාතිලක
‘චයිනමන්: ප්‍රදීප් මැතිව් ගේ ක්‍රිකට් ප්‍රවාදය’ කෘතියේ කතුවරයා



**ඉතා ප්‍රියජනකයි! හාස්‍යය, අපේක්ෂා භංගත්වය, උපහාසය යන විවිධ හැඟීම් වල සම්මිශ්‍රණයක් මෙහි ඇතුලත් සිත්තම් තුළින් ඉස්මතුකොට දක්වයි. වටිනා අදහසක් ආකර්ෂණීය ලෙස නිර්මාණය කර ඇත ත**

— අම්බිකා සත්කුනනාතන්
මානව හිමිකම් නීතිවේදී හා ශ්‍රී ලංකා මානව හිමිකම් කොමිසමේ හිටපු කොමසාරිස්වරිය



නොමිලේ පිටපත් කිරීම සහ බෙදා හරිම සඳහා

ISBN 978-1-7395849-4-8

